# 01. පාලිභාසා

## පඨමො පාඨො



බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී මුඛ දේශනා ලියා ඇති පොත් හඳුන්වන්නේ ත්‍රිපිටකය නමිනි. ඒවා ලියා ඇත්තේ පාලි භාෂාවෙනි. භාෂාව ලියා දැක්වීම සඳහා අපට අකුරු අවශ්‍ය වේ. පාලි භාෂාවේ අකුරු හතළිස් එකක් (41) දක්නට ලැබේ. මතු දැක්වෙන එම අකුරු නිවැරැදි ව උච්චාරණය කරමින් කියවන්න.

# පාලි අක්ඛරමාලා

පාලි අක්ෂරමාලාවේ අකුරු 41, ස්වර (සරා) ව්‍යඤ්ජන (බ්‍යඤ්ජනා) යනුවෙන් කොටස් දෙකකට බෙදේ.

## ස්වර - අටකි (8).

තනිව උච්චාරණය කළ හැකි අකුරු ස්වර නම් වේ.

අ ආ ඉ ඊ උ ඌ එ ඔ

## ව්‍යඤ්ජන තිස්තුනකි (33).

මෙහි ව්‍යඤ්ජන අක්ෂර හල් අකුරු ය. ස්වරයක් ආරූඪකර ඇත්තේ කියවීමේ පහසුව සඳහා ය.

| | | | | |
|---|---|---|---|---|
| ක | ඛ | ග | ඝ | ඞ |
| ච | ඡ | ජ | ඣ | ඤ |
| ට | ඨ | ඩ | ඪ | ණ |
| ත | ථ | ද | ධ | න |
| ප | ඵ | බ | භ | ම |
| ය | ර | ල | ව | |
| ස | හ | ළ | (අ) ං | |

- (අක්ඛරාපාදයො එකචත්තාළීසං)
- (තත්‍රොදන්තා සරා අට්ඨ)
- (සෙසා බ්‍යඤ්ජනා)

## අභ්‍යාසය - 01 - 1

1. පාලි හෝඩියේ අකුරු කීය ද?

2. පාලි හෝඩිය කොටස් කීයකට බෙදේ ද?

3. ස්වර අකුරු කීය ද?

4. ව්‍යඤ්ජන අකුරු කීය ද?

5. පහත දැක්වෙන ඡේදය පිටපත් කරන්න.

**එවං මෙ සුතං, එකං සමයං භගවා සාවත්ථියං විහරති ජෙතවනෙ අනාථපිණ්ඩිකස්ස ආරාමෙ. අථ ඛො අඤ්ඤතරා දෙවතා අභික්කන්තාය රත්තියා අභික්කන්තවණ්ණා කෙවලකප්පං ජෙතවනං ඔභාසෙත්වා යෙන භගවා තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා භගවන්තං අභිවාදෙත්වා එකමන්තං අට්ඨාසි. එකමන්තං ඨිතා ඛො සා දෙවතා භගවන්තං ගාථාය අජ්ඣභාසි.**

6. ඔබ විසින් පිටපත් කරන ලද ඡේදයේ තනි ව යෙදී ඇති ස්වර අකුරු යටින් ඉරක් අඳින්න.

7. පාලි අක්ෂරමාලාව නිවැරැදි ව ශබ්ද නගා උච්චාරණය කරන්න.

8. එම අකුරු ස්වර ව්‍යඤ්ජන වශයෙන් වෙන වෙන ම මතකයෙන් කියන්න.

# 02. සමෙමොදමානජාතකං

## දුතියො පාඨො

අතීතෙ බාරාණසියං බ්‍රහමදතෙත රජ්ජං කාරෙනෙත බොධිසතෙතා වටටක යොනියං නිබබතතිත්වා අනෙකවටටක සහසසපරිවාරො අරඤ්ඤෙ පටි වසති. තදා එකො වටටකලුද්දකො තෙසං වසනටඨානං ගනත්වා වටටකවසසිතං කත්වා තෙසං සනනිපතිතභාවං ඤත්වා තෙසං උපරි ජාලං බිපිත්වා පරියනෙතසු මද්දනෙතා සබ්බෙ එකතො කත්වා පච්ජිං පූරෙත්වා සරං ගනත්වා තෙ විකකිණිත්වා තෙන මූලෙන ජීවිකං කපෙපති.



(ජාතකටඨකථා - සමෙමොදමානජාතකං)

(කියවීමේ හුරුවට පමණි.)

## අක්ෂර නිර්මාණය

ස්වරයක් හා ව්‍යඤ්ජනයක් එකතු කිරීමෙන් ව්‍යඤ්ජනාක්ෂර උච්චාරණය කිරීමට පහසු වෙයි.

"ක්" අක්ෂරයට ස්වර අකුරු එක් වන ආකාරය පහත සඳහන් රූප සටහන ඇසුරෙන් තව දුරටත් පැහැදිලි කර ගත හැකි ය.



| | | | | |
|---|---|---|---|---|
| ක්+අ | = ක | | ක්+උ | = කු |
| ක්+ආ | = කා | | ක්+ඌ | = කූ |
| ක්+ඉ | = කි | | ක්+එ | = කෙ |
| ක්+ඊ | = කී | | ක්+ඔ | = කො |

## පහත දැක්වෙන පාලි වචන බැඳි අකුරෙන් ලියන්න.

| | | | |
|---|---|---|---|
| ක්+ක - ක්‍ක | ම්+බා - ම්‍බා | ත්+ව - ත්‍වා | ක්+ය - ක්‍ය |
| ච්+ච - ච්‍ච | බ්+බා - බ්‍බා | ක්+ඛ - ක්‍ඛ | ත්+ය - ත්‍ය |
| ග්+ග - ග්‍ග | ප්+පා - ප්‍පා | ත්+ථෙ - ත්‍ථෙ | ප්+ය - ප්‍ය |
| ට්+ඨ - ට්‍ඨ | ල්+ලා - ල්‍ලා | න්+වා - න්‍වා | ග්+ය - ග්‍ය |
| ණ්+ණා - ණ්‍ණා | ස්+සා - ස්‍සා | | |

## අභ්‍යාසය - 02 - 1

1. මේ අකුරු එකතු කර ලියන්න.

1. ග් + අ = ....................  2. ජ් + ඉ = ..................
3. ඩ් + උ = ..................  4. ද් + එ = ..................
5. බ් + ඔ = ....................

2. මේ අකුරුවල ස්වර ව්‍යඤ්ජන වෙන් කර ලියන්න.

1. ම = .... + ....  2. පා = .... + ....
3. සී = .... + ....  4. රූ = .... + ....
5. ති = .... + ....

3. පහත දැක්වෙන අකුරු එකට බැඳ ලියන්න.

1. ම්ම 2. ස්මි 3. ද්ධ 4. ජ්ඵ 5. ත්ත

6. ස්සා 7. ක්ක 8. ග්ඝො 9. ට්ඨො 10. ණ්ඨෙ

4. පහත දැක්වෙන පාලි වචන බැඳි අකුරෙන් ලියන්න.

1. අස්සො - (අශ්වයා) 2. ඉස්සරො - (අධිපතියා)

3. කච්ඡපො - (ඉබ්බා) 4. චන්දො - (සඳ)

5. පණ්ඩිතො - (පඬිවරයා) 6. බුද්ධො - (බුදුරජ)

7. බන්ධුලො - (බන්ධුල) 8. රුක්ඛො - (ගස)

5. පහත සඳහන් බැඳි අකුරු වෙන් කර ලියන්න.

1. ඩ්ඪ 2. ක්ක 3. ස්සා 4. ග්ගා 5. ළ්හා

6. සම්මෝදමාන ජාතක කතාවෙහි දැක්වෙන පාලි ඡේදය නිවැරැදි ව කියවන්න.

7. එම ඡේදය පිටපත් කරන්න.

8. ඔබ පිටපත් කළ ඡේදයේ ඇති බැඳි අකුරු රවුම් කර පෙන්වන්න.

# 03. සම්මොදමානජාතකං

## තතියො පාඨො



අථෙක දිවසං <u>බොධිසත්තො</u> තෙ වට්ටකෙ ආහ. අයං සාකුණිකො අම්හාකං ඤාතකෙ විනාසං <u>පාපෙති.</u> අහං එකං උපායං ජානාමි, යෙනෙස අම්හෙ ගණ්හිතුං න සක්ඛිස්සති. ඉතොදානි පට්ඨාය එතෙන තුම්හාකං උපරි ජාලෙ ඛිත්තමත්තෙ එකෙකො එකෙකස්මිං ජාලක්ඛිකෙ සීසං ඨපෙත්වා ජාලං උක්ඛිපිත්වා ඉච්ඡිතට්ඨානං හරිත්වා එකස්මිං කණ්ඨකගුම්බෙ පක්ඛිපථ. එවං සන්තෙ හෙට්ඨා තෙන තෙන ඨානෙන පලායිස්සාමාති. තෙ සබ්බෙ සාධූති පටිස්සුණිංසු.

**(ජාතකට්ඨකථා - සම්මොදමානජාතකං)**

**(කියවීමේ හුරුවට පමණි.)**

# විවිධ පද

**පාලි භාෂාවේ විවිධ පද හඳුනා ගනිමු.**

පද යනු භාෂාවේ යෙදෙන අර්ථවත් කුඩා ම ඒකකය යි. පදයක් යනු තනි අකුරක් හෝ අකුරු සමූහයකි.

1. පද වර්ග හතරකි.

නිදසුන් :-

| | |
|---|---|
| නාම පද - චන්‍දෙ (සඳ) | නිපාත පද - ච (ද) |
| ක්‍රියා පද - ගච්ඡති (යයි) | උපසර්ග පද - උප (ළඟ / දෙවැනි) |

- නාම පද පුරුෂ හා වචන වශයෙන් බෙදා වෙන්කළ හැකි ය.

1. ලිංග තුනකි (3) - පුලලිඞග, ඉත්‍ථිලිඞග, නපුංසකලිඞග
2. පුරුෂ තුනකි (3) - පඨම පුරිස, මජ්ඣිම පුරිස, උත්තම පුරිස
3. වචන දෙකකි (2) - ඒකවචන, බහුවචන

- නාමපද - නාම ප්‍රකෘතියකට විභක්ති ප්‍රත්‍යයක් එක් කිරීමෙන් නාමපදයක් සෑදෙයි.

උදා - 1. බුද්ධ + ඔ = බුද්ධො 2. කුමාර + ඔ = කුමාරො

3. ධම්ම + ඔ = ධම්මො 4. දෙව + ඔ = දෙවො

- ක්‍රියාපද - ධාතුවකට (ක්‍රියාවේ මුල් ස්වභාවයට) ආඛ්‍යාත ප්‍රත්‍යයක් එක් කිරීමෙන් ක්‍රියාපදයක් සාදාගත හැකි ය.

උදා - 1. පච + ති = පචති 2. වන්‍ද + ති = වන්‍දති

3. හස + ති = හසති 4. ධාව + ති = ධාවති

## අභ්‍යාසය - 03 - 1

1. පාලි භාෂාවේ පද වර්ග නම් කරන්න.
2. නාම පද හා ක්‍රියා පද පහ බැගින් ලියන්න.
3. පාඩම කියවා එහි ඇති ක්‍රියා පද පහක් ලියන්න.

- නාම (ශබ්ද) විභක්ති 9ක වරනැගෙයි. එම විභක්ති මෙසේ ය.

| | | |
|---|---|---|
| පඨමා විභක්තිය | ආලපන විභක්තිය | දුතියා විභක්තිය |
| තතියා විභක්තිය | කරණ විභක්තිය | චතුත්ථී විභක්තිය |
| පඤ්චමී විභක්තිය | ඡට්ඨී විභක්තිය | සත්තමී විභක්තිය |

- ක්‍රියා පද ප්‍රධාන කාල තුනකට බෙදෙයි.

| | | |
|---|---|---|
| 1. අතීත කාල | 2. වර්තමාන කාල | 3. අනාගත කාල |

## මේ පහත සඳහන් නාම පද වගුව කියවා පුහුණුවන්න.

| නාමපද | | | | | | |
|---|---|---|---|---|---|---|
| පුරිස | පුලිඞ්ගනාම | | ඉත්ථිලිඞ්ගනාම | | නපුංසකලිඞ්ගනාම | |
| | ඒකවචන | බහුවචන | ඒකවචන | බහුවචන | ඒකවචන | බහුවචන |
| පඨම | බුද්ධො - බුදුරජ | බුද්ධා - බුදුවරු | මාලා - මල්දම | මාලායො -<br>මල්දම් | චිත්තං - සිත | චිත්තානි - සිත් |
| | පිතා - පියා | පිතරො - පියවරු | පූජා - පූජාව | පූජායො - පූජා | පුඤ්ඤං - පින | පුඤ්ඤානි - පින් |
| | භාතා - සහෝදරයා | භාතරො-<br>සහෝදරයෝ | මාතා - මව | මාතරො -<br>මව්වරු | ඵලං - ගෙඩිය | ඵලානි - ගෙඩි |
| | භික්ඛු - භික්ෂුව | භික්ඛවො - භික්ෂූහු | නාවා - නැව | නාවායො - නැව් | සොතං - කන | සොතානි - කන් |
| | රාජා - රජ | රාජානො - රජවරු | වාචා - වචනය | වාචායො - වචන | දානං - දානය | දානානි - දන |
| | කලන්දකො -<br>ලේනා | කලන්දකා - ලේන්නු | භරියා - භාර්යාව | භරියායො -<br>භාර්යාවෝ | පදුමං - පියුම | පදුමානි - පියුම් |
| | ව්‍යාධො - වැද්දා | ව්‍යාධා - වැද්දෝ | වනිතා - ස්ත්‍රිය | වනිතායො -<br>ස්ත්‍රීහු | පීඨං - පුටුව | පීඨානි - පුටු |
| | කවි - පණ්ඩිතයා | කවයො -<br>පණ්ඩිතයෝ | බාලිකා -<br>බාලිකාව | බාලිකායො -<br>බාලිකාවෝ | වනං - වනය | වනානි - වන |
| | මහාසයො -<br>මහත්මයා | මහාසයා -<br>මහත්වරු | දාරිකා - දැරිය | දාරිකායො -<br>දැරියෝ | පණ්ණං -<br>කොළය | පණ්ණානි -<br>කොළ |
| | අරි - සතුරා | අරයො - සතුරෝ | දොලා -<br>ඔංචිල්ලාව | දොලායො -<br>ඔංචිල්ලා | නයනං - ඇස | නයනානි - ඇස් |
| | සර්වනාම | | | | | |
| | සො - ඔහු | තෙ - ඔවුහු | සා - ඈ | තායො - ඇලා | තං - එය | තානි - ඒවා |
| | අයං - මොහු | ඉමෙ - මොවුහු | ඉමා - මෑ | ඉමායො -<br>මෑලා | ඉදං - මෙය | ඉමානි - මේවා |
| | කො - කවුද | කෙ - කවරහු ද | කා - කවර<br>තැනැත්තියක් ද | කායො - කවර<br>තැනැත්තියෝ ද | කං - කුමක් ද | කානි -<br>මොනවා ද |
| | යො - යමෙක් | යෙ - යමෙක්හු | යා - යම්<br>තැනැත්තියක් | යායො - යම්<br>තැනැත්තියෝ | යං - යමක් | යානි - යම් ඒවා |
| මජ්ඣිම | ත්වං - නුඹ | තුම්හෙ - නුඹලා | | | | |
| උත්තම | අහං - මම | මයං - අපි | | | | |

# 04. සම්මොදමානජාතකං

## චතුත්ථො පාඨො



දුතියදිවසෙ උපරි ජාලෙ ඛිත්තෙ තෙ බොධිසත්තෙන වුත්තනයෙනෙව ජාලං උක්ඛිපිත්වා එකස්මිං කණ්ටකගුම්බෙ ඛිපිත්වා සයං හෙට්ඨාභාගෙන තතො තතො පලායිංසු. සාකුණිකස්ස ගුම්බතො ජාලං මොචෙන්තස්සෙව විකාලො ජාතො සො තුච්ඡහත්ථොව අගමාසි. පුන දිවසතො පට්ඨායපි වට්ටකා තථෙව කරොන්ති. සොපි යාව සුරියත්ථඞ්ගමනා ජාලමෙව මොචෙන්තො කිඤ්චි අලභිත්වා තුච්ඡහත්ථොව ගෙහං ගච්ඡති.

(ජාතකට්ඨකථා - සම්මොදමානජාතකං)

## විභක්ති හැඳින්වීම

විභක්ති යනු නාමයක් විවිධ අර්ථවලට බෙදා දැක්වීමයි. ඉහත පාඩමේ දී එවැනි විභක්ති නවයක් උගතිමු. ඒ අනුව අකාරාන්ත පුරුෂලිංග නාමපදයක් වරනැගෙන අයුරු මෙහි දැක්වෙයි.

| අකාරාන්ත පුල්ලිඞ්ග "බුද්ධ" ශබ්දය (බුදුරජ) | | |
|---|---|---|
| විභක්තිය | ඒකවචන | බහුවචන |
| පඨමා | බුද්ධො | බුද්ධා |
| ආලපන | (හෙ) බුද්ධ, බුද්ධා | (භවන්තො) බුද්ධා |
| දුතියා | බුද්ධං | බුද්ධෙ |
| තතියා | බුද්ධෙන | බුද්ධෙභි, බුද්ධෙහි |
| කරණ | බුද්ධෙන | බුද්ධෙභි, බුද්ධෙහි |
| චතුත්ථී | බුද්ධාය, බුද්ධස්ස | බුද්ධානං |
| පඤ්චමී | බුද්ධා, බුද්ධම්හා, බුද්ධස්මා | බුද්ධෙභි, බුද්ධෙහි |
| ඡට්ඨී | බුද්ධස්ස | බුද්ධානං |
| සත්තමී | බුද්ධෙ, බුද්ධම්හි, බුද්ධස්මිං | බුද්ධෙසු |

| අකාරාන්ත පුල්ලිඞ්ග "බුද්ධ" ශබ්දයේ අර්ථය | | |
|---|---|---|
| විභක්තිය | ඒකවචන | බහුවචන |
| පඨමා | බුදුරජ | බුදුරජවරු |
| ආලපන | (පින්වත්) බුදුරජ | (පින්වත්) බුදුරජවරුනි |
| දුතියා | බුදුරජ | බුදුරජවරුන් |
| තතියා | බුදුරජ විසින් | බුදුරජවරුන් විසින් |
| කරණ | බුදුරජ කරණකොට | බුදුරජවරුන් කරණකොට |
| චතුත්ථි | බුදුරජුට | බුදුරජවරුන්ට |
| පඤ්චමී | බුදුරජුගෙන් | බුදුරජවරුන්ගෙන් |
| ඡට්ඨී | බුදුරජුගේ | බුදුරජවරුන්ගේ |
| සත්තමී | බුදුරජු කෙරෙහි | බුදුරජවරුන් කෙරෙහි |

## අභ්‍යාසය - 04 - 1

1. පාඩමේ ඇති පාලි ඡේදයේ ඉරි ඇඳි පදවල විභක්ති ලියන්න.
2. පහත සඳහන් වචනවල බහුවචන දක්වන්න.

   1. බුද්ධස්ස 2. බුද්ධං 3. බුද්ධම්හි 4. චොරෝ 5. වාණිජමහා

3. මේ පදවල අර්ථ ලියන්න.

   1. හෙ බුද්ධ 2. බුද්ධස්ස 3. බුද්ධෙධා 4. බොධිසත්තෙන 5. වට්ටකා

4. මේවාට ගැළපෙන පාලි වචන ලියන්න.

   1. බුදුරජ විසින් 2. බුදුවරුන් කරණකොට 3. බුදුරජ කෙරෙහි

   4. කුරුළු වැද්දාට 5. වටු කුරුල්ලෝ

# 05. මහාමඞ්ගලසුත්තං

## පඤ්චමො පාඨො



බහූ දෙවා මනුස්සා ච

මඞ්ගලානි අචින්තයුං

ආකඞ්ඛමානා සොත්ථානං

බ්‍රෑහි මඞ්ගලමුත්තමං

අසෙවනා ච බාලානං - පණ්ඩිතානඤ්ච සෙවනා

පූජා ච පූජනීයානං - එතං මඞ්ගලමුත්තමං

පතිරූපදෙසවාසො ච - පුබ්බෙ ච කතපුඤ්ඤතා

අත්තසම්මාපණිධි ච - එතං මඞ්ගලමුත්තමං

බාහුසච්චඤ්ච සිප්පඤ්ච - විනයො ච සුසික්ඛිතො

සුභාසිතා ච යා වාචා - එතං මඞ්ගලමුත්තමං

මාතාපිතු උපට්ඨානං - පුත්තදාරස්ස සඞ්ගහො

අනාකුලා ච කම්මන්තා - එතං මඞ්ගලමුත්තමං

(මහාමඞ්ගලසුත්තං)

## වචන මාලාව

| | | |
|---|---|---|
| අසෙවනා | - | සේවනය නොකිරීම |
| බාලානං | - | අඥාන සත්ත්වයන්ගේ |
| පූජනීයානං | - | පිදිය යුත්තන්ට |
| පතිරූපදෙස | - | වාසයට සුදුසු ප්‍රදේශ |
| කතපුඤ්ඤතා | - | කරන ලද පින් ඇති බව |
| අත්තසම්මාපණිධි | - | තමා මනාකොට පිහිටීම |
| බාහුසච්චඤ්ච | - | බහුශ්‍රැත බව ද |
| සිප්පඤ්ච | - | ශිල්ප දැනීම ද |
| සුසික්ඛිතො | - | මනාකොට හික්මීම ලද |
| සුභාසිතා වාචා | - | යහපත් වචන |
| පුත්තදාරස්ස | - | අඹු දරුවන්ට |

## පඨමා විභත්තිය

සිව්වැනි පාඩමේ දී අපි විභක්ති නවයක් උගත්තෙමු. ඒවා අපට වැදගත් වන්නේ පාලි වාක්‍ය සාදා ගැනීම සඳහා ය. එසේ ම පාලි වාක්‍යවල අර්ථ හඳුනා ගැනීම සඳහා ය. මේ පාඩමේ සඳහන් වූ ගාථාවල යෙදුණු පද කිහිපයක් පහත දැක්වේ.

*දෙවා, මනුස්සා, බාලා, පණ්ඩිතා, මාතා, දෙසං*

- ඉහත පද යෙදී ඇත්තේ පඨමා විභක්තියෙනි.
- එම පද ඒකවචන, බහුවචන වශයෙන් දෙවැදෑරුම් ය.
- ඉහත සඳහන් පද පුරුෂලිංග, ස්ත්‍රීලිංග, නපුංසකලිංග යන ලිංගත්‍රයට බෙදා දැක්විය හැකි ය.

## අභ්‍යාසය - 05 - 1

1. මහාමඞ්ගල සූත්‍රය දේශනා කළේ කාහට ද?
2. පාඩමේ එන ගාථාවල දැක්වෙන මඞ්ගල කරුණු සොයා ලියන්න.
3. එහි දැක්වෙන නාම පද පහක් තෝරා ලියන්න.
4. එහි තිබෙන ක්‍රියා පද දෙකක් තෝරා ලියන්න.
5. එම ගාථා පන්තිය පාලි රීතිය නොබිඳ තාලයට සජ්ඣායනා කරන්න.

**පඨමා විභක්තියේ නාම වරනැගෙන ආකාරය බලන්න.**

| පඨමා විභත්තිය | | |
|---|---|---|
| නාමය | ඒකවචන | බහුවචන |
| බුද්ධ | බුද්ධො | බුද්ධා |
| අග්ගි | අග්ගි | අග්ගී, අග්ගයො |
| දණ්ඩී | දණ්ඩී | දණ්ඩී, දණ්ඩිනො |
| භික්ඛු | භික්ඛු | භික්ඛූ, භික්ඛවො |
| කඤ්ඤා | කඤ්ඤා | කඤ්ඤා, කඤ්ඤායො |
| නදී | නදී | නදී, නදියො, නජ්ජො |
| චිත්ත | චිත්තං | චිත්තා, චිත්තෙ, චිත්තානි |
| සබ්බ | සබ්බො | සබ්බෙ |
| ඉම | අයං | ඉමෙ |

# 06. වන්දනා ගාථා

## පඨමො පාඨො



**නමාමි** බුද්ධං ගුණසාගරන්තං
සත්තා සදා හොන්තු සුඛී අවෙරා
කායො ජිගුච්ඡො සකලො දුගන්ධො
**ගච්ඡන්ති** සබ්බෙ මරණං අහඤ්ච.

**වන්දාමි** චෙතියං සබ්බං
සබ්බට්ඨානෙසු පතිට්ඨිතං
සාරීරිකධාතු මහාබොධිං
බුද්ධරූපං සකලං සදා

ඝනසාරප්පදිත්තෙන - දීපෙන තමධංසිනා
තිලොකදීපං සම්බුද්ධං - **පූජයාමි** තමොනුදං

සුගන්ධිකාය වදනං - අනන්තගුණගන්ධිනං
සුගන්ධිනා'හං ගන්ධෙන - **පූජයාමි** තථාගතං

**පූජෙමි** බුද්ධං කුසුමෙනනෙන - පුඤ්ඤෙනමෙතෙන **ලභාමි** මොක්ඛං
පුප්ඵං **මිලායාති** යථා ඉදමෙම - කායො තථා **යාති** විනාසභාවං

## වචන මාලාව

1. ගුණසාගරන්තං - ඒ ගුණ සාගරයට
2. සදා - සැමදා
3. අවෙර - වෛර නැති
4. ජිගුච්ඡ - පිළිකුල්

5. සබ්බඨාන - සියලු තැන
6. පතිට්ඨිත - පිහිටියා වූ
7. ඝනසාර - කපුරු
8. පදිත්ත - දල්වන ලද
9. දීප - පහන
10. තමධංසි - අඳුර නසන
11. තමොනුද - අඳුර නසන (මෝහ නමැති)
12. සුගන්ධිකාය වදනං - සුවඳවත් මුව කමලක් ඇති
13. අනන්තගුණගන්ධිනං - අනන්ත ගුණයෙන් සුවඳවත් වූ
14. මිලායාති - මැලවෙයි
15. යථා - යම් සේ
16. තථා - එසේ
17. යාති - යයි

## ක්‍රියා පද

වාක්‍ය ලිවීම සඳහා නාම පද මෙන් ම ක්‍රියා පද ද අපට අවශ්‍ය වෙයි. දැන් අපි වර්තමාන කාලයේ ක්‍රියා පද පිළිබඳ වටහා ගනිමු. වර්තමාන කාලය යනු දැන් පවත්නා කාලය යි. වර්තමාන කාල ක්‍රියා පදයක් අපට පුරුෂ තුනෙහි වෙන් වෙන් ව බෙදා දැක්විය හැකි ය. ඒ පුරුෂවලට අයත් වර්තමාන කාලයේ ප්‍රත්‍යයන් හයක් (6) ඇත. ඒවා මෙසේ ය.

## වර්තමාන කාලයේ ක්‍රියා පද සෑදීම

**වර්තමාන කාලික පරස්සපද ප්‍රත්‍ය මාලාව**

| පුරිස | ඒකවචන | බහුවචන |
|---|---|---|
| පඨම පුරිස | ති | න්ති |
| මජ්ඣිම පුරිස | සි | ථ |
| උත්තම පුරිස | මි | ම |

- මෙම පාඩමේ අප කියවූ ගාථාවේ "**මිලායාති, ගච්ඡන්ති, නමාමි**" වශයෙන් ක්‍රියා පද තුනක් දක්නට ලැබුණි.
- ඒවා වර්තමාන කාලයට අයත් ය.

**වර්තමාන කාල ක්‍රියා පදයක් පුරුෂ තුනෙහි වරනැගෙන අයුරු බලන්න.**

| පුරිස | ඒකවචන | බහුවචන |
|---|---|---|
| පඨම පුරිස | භාසති | භාසන්ති |
| මජ්ඣිම පුරිස | භාසසි | භාසථ |
| උත්තම පුරිස | භාසාමි | භාසාම |

| පුරිස | ඒකවචන | බහුවචන |
|---|---|---|
| ප්‍රථම පුරුෂ | කියයි | කියති |
| මධ්‍යම පුරුෂ | කියහි | කියහු |
| උත්තම පුරුෂ | කියමි | කියමු |

ක්‍රියාපද භාවිතය පහසු කරගැනීමට අපට නාම පද පුරුෂ තුනෙහි යෙදෙන අයුරු දැනගැනීම වැදගත් වෙයි. ප්‍රථම පුරුෂයේ නාම පදයක් උක්ත වී ඇති විට එම පුරුෂයේ ම ක්‍රියාපදයක් යෙදිය යුතු ය. මධ්‍යම පුරුෂයේ නාම පදයක් උක්ත වී ඇති විට එම පුරුෂයේ ම ක්‍රියාපදයක් යෙදිය යුතු ය. උත්තම පුරුෂයේ ද එසේම ය. පහත වගුව බලා එය තහවුරු කර ගන්න.

| පුරිස | ඒකවචන | බහුවචන |
|---|---|---|
| පඨම පුරිස | සො/ (ඔහු) හෙතෙම<br>මනුසෙසා (මිනිසා)<br>(සියලු ඒකවචන නාම පද) | තෙ/ ඔවුහු<br>(මනුසසා/ මිනිස්සු)<br>(සියලු බහුවචන නාම පද) |
| මජ්ඣිම පුරිස | ත්වං<br>(ඔබ වහන්සේ, නුඹ,<br>ඔබ, තෝ) | තුමෙහ<br>(ඔබ වහන්සේලා, නුඹලා,<br>ඔබලා, තෙපි,) |
| උත්තම පුරිස | අහං<br>(මම) | මයං<br>(අපි) |

**ඉහත වගු දෙස බලා අපි සරල වාක්‍ය නිර්මාණය උගනිමු.**

උදා :-

01. ඔහු කියයි. - සො වදති.

02. මිනිස්සු කියති. - මනුස්සා වදන්ති.

03. නුඹ කියහි - ත්වං වදසි.

04. නුඹලා කියහු. - තුමෙහ වදථ.

05. මම කියමි. - අහං වදමි.

06. අපි කියමු. - මයං වදම.

**සර්ව නාම පදයක් හා නාම පදයක් යොදා වාක්‍ය නිර්මාණය කරන අයුරු බලන්න.**

- සො ගොපාලො හොති - හෙතෙම ගොපල්ලෙකි.
- අහං භික්ඛු භවාමි - මම භික්ෂුවක්මි.
- අයං රුක්ඛො පතති - මේ ගස වැටෙයි.
- කො ත්වං අසි - ඔබ කවුද?
- ඉමානි අක්ඛරාණි හොන්ති - මේවා අකුරු.

## අභ්‍යාසය - 06 - 1

1. පහත සඳහන් වගන්ති සිංහලට නගන්න.

    1. බුද්ධා දෙසෙති.  2. දෙවා භාසන්ති.

    3. මනුස්සා කරොන්ති.  4. සො කරොති.

    5. ත්වං කරොසි.

2. පහත සඳහන් වගන්ති පාලියට නගන්න.

    1. මව සෝදයි.  2. මම දුවමි.

    3. නුඹලා බලහු.  4. භික්ෂුව සක්මන් කරයි.

    5. බුදුවරු දේශනා කරති.

3. නාම පද හා ක්‍රියා පද නිවැරැදි ව ගළපා, පාලි වාක්‍ය පහක් නිර්මාණය කරන්න.

4. සර්ව නාම පද හා නාම පද ගළපා වාක්‍ය පහක් නිර්මාණ කරන්න.

5. ඔබ කැමති ක්‍රියා පද දෙකක් වර්තමාන කාලයේ පුරුෂ තුනෙහි වරනගා අර්ථය ලියන්න.

**මෙම ක්‍රියාපදවල අර්ථ පාඩම් කරන්න.**

1. ගච්ඡති - යයි
2. ආගච්ඡති - එයි
3. ධාවති - දුවයි
4. ඛාදති - කයි
5. පඨති - පාඩම් කරයි
6. ලිඛති - ලියයි
7. භාසති - කියයි
8. කරොති - කරයි
9. හසති - සිනාසෙයි
10. තිට්ඨති - සිටියි
11. චංකමති - සක්මන් කරයි
12. දෙසෙති - දේශනා කරයි
13. සයති - නිදයි
14. පස්සති - බලයි
15. පටිබුජ්ඣති - අවදි වෙයි
16. ධොවති - සෝදයි
17. භුඤ්ජති - අනුභව කරයි/වළඳයි
18. නිසීදති - හිඳියි
19. හරති - ගෙන යයි
20. පූජෙති - පුදයි

# 07. කචචි තෙ කසසප

## සතතමො පාඨො



කචචි තෙ **<u>කසසප</u>** ඛමනීයං? කචචි යාපනීයං? කචචි දුකඛා වෙදනා පටිකකමනති නො අභිකකමනති පටිකකමොසානං පඤ්ඤායති නො අභිකකමොති? න මෙ **<u>භනෙත</u>** ඛමනීයං; න යාපනීයං; බාළ්හා මෙ දුකඛා වෙදනා අභිකකමනති නො පටිකකමනති; අභිකකමොසානං පඤ්ඤායති නො පටිකකමොති.

සතතිමෙ **<u>කසසප</u>** බොජඣඞගා මයා සමමදකඛාතා භාවිතා බහුලීකතා අභිඤ්ඤාය සමබොධාය නිබබානාය සංවතතනති.

**(මහාකසසපතථෙරබොජඣඞගසුතතං)**

## වචන මාලාව

1. කච්චි - කිමෙක් ද?
2. ඛමනීයං - ඉවසිය හැකි
3. යාපනීයං - යැපිය හැකි
4. පටික්කමන්ති - උවදුරු (රෝග)
5. අභික්කමන්ති - (රෝගය) වර්ධනය වේද
6. බාළ්හා - දැඩිව
7. සම්මදක්ඛාතා - මැනවින් කියන ලද
8. භාවිතා - වඩන ලද
9. බහුලීකතා - බොහෝ සෙයින් පුරුදු කරන ලද
10. අභිඤ්ඤාය - විශිෂ්ට ඥාණයෙන් දැනගැනීම පිණිස
11. සම්බොධාය - අවබෝධය පිණිස
12. සංවත්තන්ති - පවතිත්

## ආලපන විභක්තිය

- කච්චි තෙ **<u>කස්සප</u>** ඛමනීයං?
  (කාශ්‍යපය, කිම ඔබට ඉවසිය හැකි ද?)
- න මෙ **<u>භන්තෙ</u>** ඛමනීයං.
  (ස්වාමීනි, මට ඉවසිය නො හැකි ය.)

බුදුරජාණන් වහන්සේ මහාකාශ්‍යප තෙරුන්ට ඇමතීම සඳහා මෙහි **<u>කස්සප</u>** යන පදය යොදා ගෙන ඇත. එසේ ම දෙවැනි වාක්‍යයෙහි **<u>භන්තෙ</u>** යනුවෙන් මහාකාශ්‍යප තෙරණුවෝ බුදුරදුන් අමතති. මෙසේ කෙනෙකු ඇමතීම සඳහා ආලපන විභක්තියේ පද අපි භාවිත කරමු.

**පහත උදාහරණ බලන්න.**

- හෙ දෙව - පින්වත් දෙවිය,
- හෙ මනුස්ස - පින්වත් මිනිස,
- හෙ අස්ස - එම්බා අශ්වය,
- භවන්තො සිස්සා - පින්වත් ශිෂ්‍යයිනි,
- භවන්තො ආචරියා - පින්වත් ගුරුවරුනි,

**ආලපන විභක්තියේ නාම වරනැඟෙන අයුරු බලන්න.**

| ආලපන විභක්තිය | | |
|---|---|---|
| නාමය | ඒක වචන | බහු වචන |
| බුද්ධ | (හෙ) බුද්ධ, බුද්ධා | (භවන්තො) බුද්ධා |
| අග්ගි | (හෙ) අග්ගි, | (හෙ) අග්ගී, අග්ගයො |
| දණ්ඩී | (හෙ) දණ්ඩී | (හෙ) දණ්ඩී, දණ්ඩිනො |
| භික්ඛු | (හෙ) භික්ඛු | (භවන්තො) භික්ඛූ, භික්ඛවෙ, භික්ඛවො |
| කඤ්ඤා | (හොති) කඤ්ඤෙ | (හොති) කඤ්ඤා, කඤ්ඤායො |
| නදී | (හොති) නදී | (හොති) නදී, නදියො, නජ්ජො |
| චිත්ත | (හෙ) චිත්ත, චිත්තා | (හෙ) චිත්තෙ, චිත්තානි |

ආලපන විභක්ති පද භාවිත කොට සාදා ඇති මෙම වාක්‍ය බලන්න.

- **හෙ මිත්ත, ඉධ ආගච්ඡසි.**- පින්වත් මිත්‍රය, මෙහි එන්න.
- **හෙ පුරිස, ත්වං ආගච්ඡසි.**- පින්වත් පුරුෂය, ඔබ එන්න.
- **භවන්තො සිස්සා, තුම්හෙ ලිඛථ.**- පින්වත් සිසුනි, ඔබලා ලියවු.

## අභ්‍යාසය - 07 - 1

1. සිංහලට නගන්න.
    1. හෙ කුමාර, ඉධ තිට්ඨසි.
    2. හෙ භූපාල, ත්වං ඉතො නික්ඛම.
    3. හෙ ආනන්ද, කො අයං?
    4. හෙ ආචරිය, අයං පදීපො.
    5. භවන්තො කුමාරා, තුම්හෙ ධාවථ.
2. පාලියට නගන්න.
    1. පින්වත් කුමාරය, ඔබ කවරෙක් ද?
    2. පින්වත් යහළුව, මම සෝරත.
    3. එම්බා අශ්වයිනි, තොපි දුවවු.
    4. පින්වත් මහ ඇමතිතුමනි, හිඳගන්න.
    5. එම්බා සේවකය, මෙතැනින් යන්න.
3. ආලපන විභක්ති පද යොදා ඔබ කැමති වාක්‍ය පහක් නිර්මාණය කරන්න.
4. ඔබ කැමති නාම දහයක් ආලපන විභක්ති රූපයෙන් ලියන්න.

**මෙම ශබ්දය වාචෝද්ග්‍රහණය කරන්න.**

| ඉකාරාන්ත පුලලිඞග - ''අගගි'' ශබ්දය - (ගිනි) | | |
|---|---|---|
| **විභක්තිය** | **ඒකවචන** | **බහුවචන** |
| **පඨමා** | අගගි | අගගී, අගගයො |
| **ආලපන** | (හෙ) අගගි | (හෙ) අගගී, අගගයො |
| **දුතියා** | අගගිං | අගගී, අගගයො |
| **තතියා** | අගගිනා | අගගීහි, අගගීභි |
| **කරණ** | අගගිනා | අගගීහි, අගගීභි |
| **චතුත්ථී** | අගගිනො, අගගිසස | අගගීනං |
| **පඤචමී** | අගගිනා, අගගිමහා, අගගිසමා | අගගීහි, අගගීභි |
| **ඡටඨී** | අගගිනො, අගගිසස | අගගීනං |
| **සතතමී** | අගගිමහි, අගගිසමිං | අගගිසු, අගගීසු |

# 08. දසසික්ඛාපදනි

## අට්ඨමො පාඨො



බුද්ධං සරණං ගච්ඡාමි.

ධම්මං සරණං ගච්ඡාමි.

සංඝං සරණං ගච්ඡාමි.

දුතියම්පි බුද්ධං සරණං ගච්ඡාමි.

දුතියම්පි ධම්මං සරණං ගච්ඡාමි.

දුතියම්පි සංඝං සරණං ගච්ඡාමි.

තතියම්පි බුද්ධං සරණං ගච්ඡාමි.

තතියම්පි ධම්මං සරණං ගච්ඡාමි.

තතියම්පි සංඝං සරණං ගච්ඡාමි.

1. පාණාතිපාතා වෙරමණී සික්ඛාපදං සමාදියාමි.
2. අදින්නාදානා වෙරමණී සික්ඛාපදං සමාදියාමි.
3. අබ්‍රහ්මචරියා වෙරමණී සික්ඛාපදං සමාදියාමි.
4. මුසාවාදා වෙරමණී සික්ඛාපදං සමාදියාමි.
5. සුරාමේරයමජ්ජපමාදට්ඨානා වෙරමණී සික්ඛාපදං සමාදියාමි.
6. විකාලභෝජනා වෙරමණී සික්ඛාපදං සමාදියාමි.
7. නච්චගීතවාදිතවිසූකදස්සනා වෙරමණී සික්ඛාපදං සමාදියාමි.
8. මාලාගන්ධවිලේපනධාරණමණ්ඩනවිභූසනට්ඨානා වෙරමණී සික්ඛාපදං සමාදියාමි.
9. උච්චාසයන මහාසයනා වෙරමණී සික්ඛාපදං සමාදියාමි.
10. ජාතරූපරජතපටිග්ගහණා වෙරමණී සික්ඛාපදං සමාදියාමි.

## වචන මාලාව

1. දුතියං - දෙවනුව
2. තතියං - තෙවනුව
3. සරණ - පිහිට, සරණ
4. අට්ඨ - අට
5. අපි - ද
6. පාණාතිපාත - ප්‍රාණඝාතය
7. අදින්නාදාන - නොදුන් දේ ගැනීම
8. අබ්‍රහ්මචරිය - බඹසර නො හැසිරීම
9. මුසාවාද - බොරුකීම
10. සුරාමේරය - රහමෙර

11. මජ්ජ - මදය
12. නච්ච - නැටීම
13. විසූකදස්සනා - විහිළු දර්ශන
14. විලෙපන - විලවුන්
15. ජාතරූපරජත - රන්රිදී මසු කහවණු
16. පටිග්ගහණ - පිළිගැනීම

## දුතියා විභක්තිය

අහං <u>බුද්ධං සරණං</u> ගච්ඡාමි

මෙම වගන්තියේ ''බුද්ධං සරණං'' යන පද දෙක ම යෙදී ඇත්තේ දුතියා විභක්තියෙනි. වාක්‍යයක සාමාන්‍යයෙන් පද දෙකක් හෝ තුනක් වත් තිබේ.

| ක්‍රියාව කරන්නා | කරන දෙය | ක්‍රියා පදය |
|---|---|---|

- මේ පද තුනෙන් ''<u>කරන දෙය</u>'', අපි පාලියෙන් යොදන විට දුතියා විභක්තියෙන් යොදමු.
- **කුම්භකාරො ඝටං කරොති**
  (කුඹල්කරු කළය සාදයි.)
- **අහං <u>බුද්ධං සරණං</u> ගච්ඡාමි**
  (මම බුදුරජාණන් වහන්සේ සරණ යමි.)
- මේ වගන්තිවල ක්‍රියාපද ''**සාදයි**'' ''**යමි**'' යනුවෙන් ඇත. එම නිසා ''**කරන දෙය**'' දක්වූ හා පැමිණෙන තැන දක්වෙන පද දුතියා විභක්තියෙන් යොදනු ලැබිණි. මේ අනුව ක්‍රියාවෙන් යටත් වන පද දුතියාවෙන් යෙදේ.

දුතියා විභක්ති පද වාක්‍යවල යෙදෙන අයුරු බලන්න.

- අහං චන්දං පස්සාමි - මම සඳ බලමි.
- සිස්සො භත්තං භුඤ්ජති - ශිෂ්‍යයා බත් අනුභව කරයි.
- ආචරියො අක්ඛරං ලිඛති - ගුරුවරයා අකුරක් ලියයි.
- මිත්තො ගාමං ගච්ඡති - මිත්‍රයා ගමට යයි.
- අස්සො නගරං ධාවති - අශ්වයා නගරයට දුවයි.

දුතියා විභක්තියේ නාම වරනැගෙන අයුරු බලන්න.

| දුතියා විභක්තිය | | |
|---|---|---|
| නාමය | ඒකවචන | බහුවචන |
| බුද්ධ | බුද්ධං | බුද්ධෙ |
| අග්ගි | අග්ගිං | අග්ගී, අග්ගයො |
| දණ්ඩී | දණ්ඩිනං, දණ්ඩිං | දණ්ඩී, දණ්ඩිනො |
| භික්ඛු | භික්ඛුං | භික්ඛූ, භික්ඛවො |
| කඤ්ඤා | කඤ්ඤං | කඤ්ඤා, කඤ්ඤායො |
| නදී | නදිං | නදී, නදියො, නජ්ජො |
| චිත්ත | චිත්තං | චිත්තෙ, චිත්තානි |
| සබ්බ | සබ්බං | සබ්බෙ |
| ඉම | ඉමං | ඉමෙ |

## අභ්‍යාසය - 08 - 1

1. සිංහලට නගන්න.

   1. ධනපාලො ගෙහං ගච්ඡති.
   2. දාසො රුක්ඛං ඡින්දති.
   3. සූදො භත්තං පචති.
   4. යාචකො ඔදනං යාචති.
   5. මනුස්සා කම්මානි කරොන්ති.

2. පාලියට නගන්න.

   1. ගොවියා කුඹුරට යයි.
   2. කම්කරුවා වැඩ කරයි.
   3. ගොපල්ලා එළුවෙකු ගෙන යයි.
   4. දරුවා මලක් කඩයි.
   5. භික්ෂුව පන්සලට වඩියි.

3. ඔබ දන්නා දුතියා විභක්ත්‍යන්ත පද යොදා ගෙන වගන්ති 5ක් නිර්මාණය කරන්න.

4. මේ පදවල දුතියා විභක්ත්‍යන්ත රූප ලියන්න.

   1. නර (මිනිසා)
   2. කපි (වඳුරා)
   3. ආචරිය (ගුරුවරයා)
   4. පඤ්ඤා (ප්‍රඥාව)
   5. ඵලං (ගෙඩිය)

5. දුතියා විභක්ති නාමපද වගුව ශබ්දනගා කියවන්න.

**මෙම ශබ්දය වාචෝද්ග්‍රහණය කරන්න**

| උකාරාන්ත පුල්ලිඞ්ග - "භික්ඛු" ශබ්දය - (භික්ෂුව) | | |
|---|---|---|
| **විභක්තිය** | **ඒකවචන** | **බහුවචන** |
| **පඨමා** | භික්ඛු | භික්ඛූ, භික්ඛවො |
| **ආලපන** | (හෙ) භික්ඛු | (භවන්තො) භික්ඛූ, භික්ඛවෙ, භික්ඛවො |
| **දුතියා** | භික්ඛුං | භික්ඛූ, භික්ඛවො |
| **තතියා** | භික්ඛුනා | භික්ඛූහි, භික්ඛූභි |
| **කරණ** | භික්ඛුනා | භික්ඛූහි, භික්ඛූභි |
| **චතුත්ථී** | භික්ඛුනො, භික්ඛුස්ස | භික්ඛූනං |
| **පඤ්චමී** | භික්ඛුනා, භික්ඛුම්හා, භික්ඛුස්මා | භික්ඛූහි, භික්ඛූභි |
| **ඡට්ඨී** | භික්ඛුනො, භික්ඛුස්ස | භික්ඛූනං |
| **සත්තමී** | භික්ඛුම්හි, භික්ඛුස්මිං | භික්ඛුසු, භික්ඛූසු |

# 09. කස්සකො

## නවමො පාඨො



එකස්මිං ගාමෙ එකො කස්සකො වසති. සො සිරිදාසො නාම. තස්ස එකො පුත්තො භවති. සො සුනන්දො නාම. එකදා සිරිදාසො පුත්තෙන සද්ධිං තස්ස ඛෙත්තං ගච්ඡති. ඛෙත්තෙ කම්මං කත්වා සො පච්ඡා ගෙහං ආගච්ඡති. අථ ඛො සුනන්දො නාම පුත්තො තස්ස මාතුයා සහ ආපණං ගච්ඡති. තදා තස්ස මිත්තා මග්ගෙ කීළන්ති. සිරිදාසස්ස පුත්තස්ස ච එතදහොසි, ''අහං ච මම මිත්තෙන සද්ධිං කීළිතුං ගච්ඡාමී'ති'' අථ මාතරං වන්දිත්වා සො මිත්තෙහි සහ කීළිතුං ගච්ඡති.

## වචන මාලාව

1. එකස්මිං - එක්තරා
2. ගාම - ගම
3. කස්සක - ගොවියා
4. නාම - නම්
5. එකදා - එකදවසක්
6. සද්ධිං - සමග

7. ඛෙත්තං - කුඹුර

8. කත්වා - කොට

9. පච්ඡා - පසුව

10. ආගච්ඡති - පැමිණෙයි.

11. ආපණ - කඩය

12. කීළති - ක්‍රීඩා කරයි

13. එතදහොසි - මෙසේ සිත් විය

14. මාතරං - මවට

15. වන්දිත්වා - වැඳ

11. දහරො - ළදරුවා

## තතියා විභක්තිය

**කස්සකො <u>පුත්තෙන සද්ධිං</u> ඛෙත්තං ගච්ඡති**

(ගොවියා පුතා සමඟ කුඹුරට යයි.)

- තතියා විභක්තියෙන් "**විසින්**", ''**සමඟ**'' යන අර්ථ යෙදේ.
- "සමඟ" යන අදහස වචනයකට දීමට අපි 'සද්ධිං, සහ' යන නිපාත පද ද භාවිත කරමු.
- එය යෙදිය යුත්තේ **තතියා විභක්ත්‍යන්ත** පදයක් සමඟ ය.
- එනිසා ''**පුත්ත**'' ශබ්දය ''**පුත්තෙන**'' යනුවෙන් තතියාවෙන් තබා ඇති බව ඉහත වාක්‍යයෙන් පෙනේ.

**තතියා විභක්ති පද යොදා සැකසූ පහත වගන්ති බලන්න.**

- සො මිත්තෙන සද්ධිං ගච්ඡති - ඔහු මිතුරා සමග යයි.
- අහං මාතුයා සද්ධිං ගච්ඡාමි - මම මව සමග යමි.
- මාතා දාරකෙන සහ සල්ලපති - මව දරුවා සමග කතා කරයි.
- ආචරියො සිස්සෙහි සහ ලිඛති - ගුරුවරයා ශිෂ්‍යයන් සමග ලියයි.
- සො සිරිදාසෙන සද්ධිං භුඤ්ජති - හෙතෙම සිරිදාස සමග අනුභව කරයි.

**තතියා විභක්තියේ නාමපද වරනැගෙන අයුරු බලන්න.**

| තතියා විභක්තිය | | |
|---|---|---|
| නාමය | ඒකවචන | බහුවචන |
| බුද්ධ | බුද්ධෙන | බුද්ධෙභි, බුද්ධෙහි |
| අග්ගි | අග්ගිනා | අග්ගීභි, අග්ගීහි |
| දණ්ඩී | දණ්ඩිනා | දණ්ඩීභි, දණ්ඩීහි |
| භික්ඛු | භික්ඛුනා | භික්ඛූභි, භික්ඛූහි |
| කඤ්ඤා | කඤ්ඤාය | කඤ්ඤාභි, කඤ්ඤාහි |
| නදී | නදියා, නජ්ජා | නදීභි, නදීහි |
| චිත්ත | චිත්තෙන | චිත්තෙභි, චිත්තෙහි |
| සබ්බ | සබ්බෙන | සබ්බෙභි, සබ්බෙහි |
| ඉම | අනෙන, ඉමිනා | එභි, එහි, ඉමෙභි, ඉමෙහි |

## අභ්‍යාසය - 09 - 1

1. සිංහලට නගන්න.

    1. අහං සිසෙසන සද්ධිං වන්දාමි.
    2. මිත්තො ආනන්දෙන සහ ගච්ඡති.
    3. ත්වං දාසෙන සහ ගච්ඡසි.
    4. දහරො මාතුයා සද්ධිං සයති.
    5. තෙ කස්සකෙන සද්ධිං ඛෙත්තං ගච්ඡන්ති.

2. පාලියට නගන්න.

    1. නුඹ සිරිදාස සමග යහි.
    2. මම සෝරත සමග ගෙදර යමි.
    3. ගොවියා මිතුරන් සමග කුඹුරට යයි.
    4. කවරෙක් ශිෂ්‍යයා සමග ලියයි ද?
    5. ඇමතිවරු රජු සමග කතා කරති.

3. ''**සහ, - සද්ධිං**'' යන පද දෙක තතියා විභක්ති පද සමග යොදා වාක්‍ය පහක් නිර්මාණය කරන්න.

4. පාඩමේ එන කතාව සිංහලට නගන්න.

5. පිරිත් පොත බලා ''සහ'' සහ ''සද්ධිං'' යන නිපාත පද යෙදුණු පාලි වගන්ති සොයා ලියන්න.

**මෙම ශබ්දය වාචෝද්ග්‍රහණය කරන්න.**

| ඊකාරාන්ත පුල්ලිඞ්ග - ''දණ්ඩි'' ශබ්දය - (දඬු ගත් තැනැත්තා) | | |
|---|---|---|
| **විභක්තිය** | **ඒකවචන** | **බහුවචන** |
| **පඨමා** | දණ්ඩි | දණ්ඩී, දණ්ඩිනො |
| **ආලපන** | (හෙ) දණ්ඩි | (හෙ) දණ්ඩී, දණ්ඩිනො |
| **දුතියා** | දණ්ඩිනං, දණ්ඩිං | දණ්ඩී, දණ්ඩිනො |
| **තතියා** | දණ්ඩිනා | දණ්ඩීභි, දණ්ඩීහි |
| **කරණ** | දණ්ඩිනා | දණ්ඩීභි, දණ්ඩීහි |
| **චතුත්ථී** | දණ්ඩිනො, දණ්ඩිස්ස | දණ්ඩීනං |
| **පඤ්චමී** | දණ්ඩිනා, දණ්ඩිම්හා, දණ්ඩිස්මා | දණ්ඩීභි, දණ්ඩීහි |
| **ඡට්ඨී** | දණ්ඩිනො, දණ්ඩිස්ස | දණ්ඩීනං |
| **සත්තමී** | දණ්ඩිනි, දණ්ඩිම්හි, දණ්ඩිස්මිං | දණ්ඩිසු, දණ්ඩීසු |

# 10. බුද්ධානුසාසනං

## දසමො පාඨො



න හි වෙරෙන වෙරානි
සම්මන්තී'ධ කුදාචනං
අවෙරෙන ච සම්මන්ති
එස ධම්මො සනන්තනො

පරෙ ච න විජානන්ති
මයමෙත්ථ යමාමසෙ
යෙ ච තත්ථ විජානන්ති
තතො සම්මන්ති මෙධගා

සුභානුපස්සිං විහරන්තං - ඉන්ද්‍රියෙසු අසංවුතං
භොජනම්හි අමත්තඤ්ඤුං - කුසීතං හීනවීරියං
තං වෙ පසහති මාරො - වාතො රුක්ඛං'ව දුබ්බලං

අසුභානුපස්සිං විහරන්තං - ඉන්ද්‍රියෙසු සුසංවුතං
භොජනම්හි ච මත්තඤ්ඤුං - සද්ධං ආරද්ධවීරියං
තං වෙ නප්පසහති මාරො - වාතො සෙලං'ව පබ්බතං

**(ධම්මපදය - යමක වග්ගය)**

## වචන මාලාව

1. හි - ඒකාන්තයෙන්
2. වෙර - වෛරය
3. සම්මන්ති - සංසිඳෙත්
4. ඉධ - මෙහි, මේ ලෝකයේ
5. කුදාචනං - කිසිදා
6. සනන්තනො - සනාතන, සදාකාලික
7. විජානාති - දනියි
8. එත්ථ - මෙහි
9. යමාමසෙ - (මරුමුවට) යම්හ යැයි
10. තතො - එයින්
11. මෙධගා - කලහ
12. තත්ථ - එහි
13. අසංවුත - නොහික්මුණු
14. අමත්තඤ්ඤු - පමණ නොදන්නා
15. කුසීත - කම්මැලි
16. පසහති - පෙළයි
17. කෙත - කුමකින්

## කරණ විභක්තිය

- <u>වෙරෙන</u> වෙරානි න සම්මන්ති.

  (වෛරයෝ <u>වෛරයෙන්</u> නො සංසිඳෙති)

- <u>අවෙරෙන</u> වෙරානි සම්මන්ති.

  (<u>අවෛරයෙන්</u> වෛරයෝ සංසිඳෙති)

මෙම වගන්ති දෙකේ ඉරි ඇඳි පද තබා ඇත්තේ කරණ විභක්තියෙනි. වෛරය සංසිඳීමට හේතු වූ කාරණය යන අදහසිනි. **''හේතුකොට ගෙන, කරණ කොට ගෙන, උපකාරයෙන්''** යන අදහස කරණ විභක්තියෙන් ලැබේ.

**කරණ විභක්ති පද යොදා ඇති පහත වගන්ති බලන්න.**

- අහං පුප්ඵෙන බුද්ධං පූජෙමි - මම මලෙන් බුදුන් පුදමි.
- සො අග්ගිනා ඣාපෙති - හෙතෙම ගින්නෙන් දවයි.
- මයං පාදෙහි ගච්ඡාම - අපි පා වලින් යමු.
- සිස්සො හත්ථෙන ලිඛති - ශිෂ්‍යයා අතින් ලියයි.
- රාජා රථෙන ගච්ඡති - රජතුමා රථයෙන් යයි.

**කරණ විභක්තියේ නාම වරනැගෙන අයුරු බලන්න.**

| කරණ විභක්තිය | | |
|---|---|---|
| **නාමය** | **ඒකවචන** | **බහුවචන** |
| බුද්ධ | බුද්ධෙන | බුද්ධෙභි, බුද්ධෙහි |
| අග්ගි | අග්ගිනා | අග්ගීභි, අග්ගීහි |
| දණ්ඩී | දණ්ඩිනා | දණ්ඩීභි, දණ්ඩීහි |
| භික්ඛු | භික්ඛුනා | භික්ඛූභි, භික්ඛූහි |

| | | |
|---|---|---|
| කඤ්ඤා | කඤ්ඤාය | කඤ්ඤාහි, කඤ්ඤාභි |
| නදී | නදියා, නජ්ජා | නදීහි, නදීභි |
| චිත්ත | චිත්තේන | චිත්තේහි, චිත්තේභි |
| සබ්බ | සබ්බේන | සබ්බේහි, සබ්බේභි |
| ඉම | අනේන, ඉමිනා | ඒහි, ඒභි, ඉමේහි, ඉමේභි |

## අභ්‍යාසය 10 - 1

1. සිංහලට නගන්න.
    1. ආනන්දො හත්ථෙන සකුණං ආහරති.
    2. ඒසො රථේන ගාමං ගච්ඡති.
    3. ත්වං පාදෙන මා පහරි.
    4. තුම්හෙ කෙන ආගච්ඡථ?
    5. අහං ඉමිනා පුඤ්ඤකම්මෙන මොක්ඛං ලභාමි.

2. පාලියට නගන්න.
    1. ඇතා පා වලින් දුවයි.
    2. ළමයා දණ්ඩෙන් ගසයි.
    3. හෙතෙම කුමකින් ගසයි ද?
    4. ගුරුතුමා අතින් ගනියි.
    5. වඳුරා අත් වලින් ද, පා වලින් ද පනියි.

3. කරණ විභක්ත්‍යන්ත පද යොදා වාක්‍ය පහක් සාදන්න.

4. පාඩමේ එන ගාථා සිංහලට නගන්න.

5. කරණ විභක්ති පද යොදා පහත වාක්‍යවල හිස්තැන් පුරවන්න.

1. පුරිසො ...................... (පාද) ගච්ඡති.
2. කස්සකො ...................... (ඵරසු) රුක්ඛං ඡින්දති.
3. බාලකො ...................... (හත්ථ) සුනඛං පහරති.
4. අහං ...................... (කුසුම) බුද්ධං පූජෙමි.
5. සො ...................... (චක්ඛු) රූපං පස්සති.

**මෙම ශබ්දය වාචෝද්ග්‍රහණය කරන්න**

| ස්ත්‍රී ලිංග ආකාරාන්ත "කඤ්ඤා" ශබ්දය - (කන්‍යාව, දස හැවිරිදි ස්ත්‍රීන්) | | |
|---|---|---|
| **විභක්තිය** | **ඒකවචන** | **බහුවචන** |
| පඨමා | කඤ්ඤා | කඤ්ඤා, කඤ්ඤායො |
| ආලපන | (හෙ) කඤ්ඤෙ | (භොතී) කඤ්ඤා, කඤ්ඤායො |
| දුතියා | කඤ්ඤං | කඤ්ඤා, කඤ්ඤායො |
| තතියා | කඤ්ඤාය | කඤ්ඤාහි, කඤ්ඤාභි |
| කරණ | කඤ්ඤාය | කඤ්ඤාහි, කඤ්ඤාභි |
| චතුත්ථී | කඤ්ඤාය | කඤ්ඤානං |
| පඤ්චමී | කඤ්ඤාය | කඤ්ඤාහි, කඤ්ඤාභි |
| ඡට්ඨී | කඤ්ඤාය | කඤ්ඤානං |
| සත්තමී | කඤ්ඤාය, කඤ්ඤායං | කඤ්ඤාසු |

# 11. කාකවණ්ණතිස්සරාජා

## ඒකාදසමො පාඨො



කාකවණ්ණතිස්සමහාරාජා කිර විහාරදෙවියා සද්ධිං රොහණෙ රජ්ජං කාරෙන්තො, අනොපමං මහාදානං පවත්තෙන්තො මහාගාමං පටිවසති. අථ එකදිවසං සො **භික්ඛුසංඝස්ස** පුරෙභත්තං මහාදානං පවත්තෙත්වා, පච්ඡාභත්තං දෙවියා සද්ධිං සෙනඞ්ග පරිවුතො මහන්තෙන ආනුභාවෙන තිස්සමහාවිහාරං ගන්ත්වා තස්මිං ඨානෙ භික්ඛූ වන්දන්තො **ගිලානානං භික්ඛූනං** භෙසජ්ජං පටිපාදෙන්තො අට්ඨවිධපානමුඛවාසයුත්තතාම්බූලාදීහි භික්ඛූනං උපට්ඨහන්තො අනුපුබ්බෙන සිලාපස්සයං, තං නාම පරිවෙණං ගන්ත්වා තස්ස එකස්ස බහුස්සුතස්ස ථෙරස්ස සන්තිකෙ ධම්මසවණත්ථං නිසීදි.

## වචන මාලාව

1. අනොපමං - උපමා කළ නොහැකි
2. පටිවසති - වාසය කරයි
3. සෙනඞ්ග - සෙනග
9. පුරෙභත්තං - උදේ කාලය
10. පච්ඡාභත්තං - සවස් කාලය
11. උපට්ඨහති - උපස්ථාන කරයි

4. පරිවුත - පිරිවරන ලද

5. භෙසජ්ජ - බෙහෙත්

6. පටිපාදෙති - පිළියෙළ කරයි

7. මුඛවාසයුත්ත - මුව සුවඳ කරන දෑ වලින් යුත්

8. අසරණ - පිහිටක් නැති

12. අනුපුබ්බ - පිළිවෙල

13. සිලාපස්සය - ගල්තලා ප්‍රදේශය

14. ගන්ත්වා - ගොස්

15. සන්තික - සමීපය

## චතුර්ථී විභක්තිය

- සො **<u>භික්ඛුසංඝස්ස</u>** මහාදානං දෙති.
  (ඔහු <u>භික්ෂුසංඝයාට</u> මහාදානයක් දෙයි.)
- මෙම වාක්‍යයේ ඉරි ඇඳි පදය යොදා ඇත්තේ චතුර්ථී විභක්තියෙනි.
- ''**දෙන දෙය ලබන තැනැත්තා**'' කියවෙන පදය චතුර්ථී විභක්තියෙන් යෙදේ.
- ''**සඳහා**'', ''**ට , පිණිස**'' යන අර්ථ මෙම විභක්තියෙන් යොදනු ලැබේ.

**චතුර්ථී විභක්ත්‍යන්ත පද යොදා ඇති මෙම වාක්‍ය බලන්න.**

- මාතා **පුත්තාය** පොත්ථකං දෙති - මව පුතාට පොතක් දෙයි.

- ආචරියො **සිස්සානං** සිප්පං දෙති - ගුරුවරයා ශිෂ්‍යයන්ට ශිල්පය දෙයි.

- මයං **දෙවානං** පුඤ්ඤං අනුමොදයාම - අපි දෙවිවරුන්ට පින් අනුමෝදන් කරවමු.
- අහං **භික්ඛුනො** දානං දදාමි - මම භික්ෂුවට දානයක් දෙමි.
- නන්දො **මිත්තාය** ආහාරං දෙති - නන්ද මිත්‍රයාට ආහාර දෙයි.

**චතුත්ථී විභත්තියේ නාම වරනැගෙන ආකාරය බලන්න.**

| චතුත්ථී විභත්තිය | | |
|---|---|---|
| **නාමය** | **ඒකවචන** | **බහුවචන** |
| **බුද්ධ** | බුද්ධාය, බුද්ධස්ස | බුද්ධානං |
| **අග්ගි** | අග්ගිනො, අග්ගිස්ස | අග්ගීනං |
| **දණ්ඩී** | දණ්ඩිනො, දණ්ඩිස්ස | දණ්ඩීනං |
| **භික්ඛු** | භික්ඛුනො, භික්ඛුස්ස | භික්ඛූනං |
| **කඤ්ඤා** | කඤ්ඤාය | කඤ්ඤානං |
| **නදී** | නදියා, නජ්ජා | නදීනං |
| **චිත්ත** | චිත්තාය, චිත්තස්ස | චිත්තානං |
| **සබ්බ** | සබ්බස්ස | සබ්බෙසං, සබ්බෙසානං |
| **ඉම** | අස්ස, ඉමස්ස | එසං, එසානං, ඉමෙසං, ඉමෙසානං |

# අභ්‍යාසය - 11 - 1

1. සිංහලට නගන්න.
   1. ත්වං ඉදානි තස්ස පත්තං දෙහි.
   2. චොරො වාණිජාය අස්සං දෙති.
   3. තුම්හෙ කස්සකානං ගොණෙ දදථ.
   4. භූපාලො ගජස්ස ආහාරං දෙති.
   5. මයං සාමණෙරස්ස දානං දෙම.

2. පාලියට නගන්න.
   1. මම බුදුන්ට පහන් පුදමි.
   2. හෙතෙම කුරුල්ලන්ට කෑම දෙයි.
   3. සේවකයා ස්වාමියාට මොණරෙකු දෙයි.
   4. දායකයෝ භික්ෂූන්ට දානය දෙති.
   5. මිනිස්සු සතුන්ට හිංසා නො කරති.

3. චතුර්ථී විභක්ත්‍යන්ත පද යොදා වාක්‍ය පහක් නිර්මාණය කරන්න.

4. චතුර්ථී විභක්ත්‍යන්ත පද යොදා මේ වාක්‍යවල හිස්තැන් පුරවන්න.
   1. සො ................................ (මිත්ත) පොත්ථකං දෙති.
   2. කුමාරො ................................ (යාචක) ආහාරං දෙති.
   3. සිස්සා ................................ (ගරු) උපහාරං දෙන්ති.
   4. සුනඛී ................................ (පොතක) ඛීරං දෙති.
   5. ත්වං ................................ (ඤාති) උපකාරං කරොහි.

5. ඔබ කැමති නාම පද දහයක් ලියා ඒවා චතුත්ථි විභක්ති බහුවචනයට හරවා ලියන්න.

**මෙම ශබ්දය වාචෝද්ග්‍රහණය කරන්න.**

| ස්ත්‍රී ලිංග ඊකාරාන්ත ''නදී'' ශබ්දය - (නදිය) | | |
|---|---|---|
| **විභක්තිය** | **ඒකවචන** | **බහුවචන** |
| **පඨමා** | නදී | නදී, නදියො, නජ්ජො |
| **ආලපන** | (හෙ) නදී | (හෙ) නදී, නදියො, නජ්ජො |
| **දුතියා** | නදිං | නදී, නදියො, නජ්ජො |
| **තතියා** | නදියා, නජ්ජා | නදීභි, නදීහි |
| **කරණ** | නදියා, නජ්ජා | නදීභි, නදීහි |
| **චතුත්ථි** | නදියා, නජ්ජා | නදීනං |
| **පඤ්චමී** | නදියා, නජ්ජා | නදීභි, නදීහි |
| **ඡට්ඨී** | නදියා, නජ්ජා | නදීනං |
| **සත්තමී** | නදියා, නදියං, නජ්ජං | නදීසු |

# 12. පච්චවෙක්ඛණා

## ද්වාදසමො පාඨො



(1) පටිසඞ්ඛායොනිසො චීවරං පටිසෙවාමි, යාවදෙව සීතස්ස පටිඝාතාය උණ්හස්ස පටිඝාතාය ඩංසමකසවාතාතපසිරිංසපසම්ඵස්සානං පටිඝාතාය යාවදෙව හිරිකොපීන පටිච්ඡාදනත්ථං.

(2) පටිසඞ්ඛායොනිසො පිණ්ඩපාතං පටිසෙවාමි, නෙව දවාය න මදාය න මණ්ඩනාය න විහූසනාය යාවදෙව ඉමස්ස කායස්ස ඨිතියා යාපනාය විහිංසූපරතියා බ්‍රහ්මචරියානුග්ගහාය ඉති පුරාණඤ්ච වෙදනං පටිහඞ්ඛාමි නවඤ්ච වෙදනං න උප්පාදෙස්සාමි යාත්‍රා ච මෙ හවිස්සති අනවජ්ජතා ච ඵාසුවිහාරොචාති.

(3) පටිසඞ්ඛායොනිසො සෙනාසනං පටිසෙවාමි, යාවදෙව සීතස්ස පටිඝාතාය, උණ්හස්ස පටිඝාතාය, ඩංසමකසවාතාතපසිරිංසපසම්ඵස්සානං පටිඝාතාය, යාවදෙව උතුපරිස්සය විනොදනං පටිසල්ලානාරාමත්ථං.

(4) පටිසඞ්ඛායොනිසො ගිලානපච්චයභෙසජ්ජපරික්ඛාරං පටිසෙවාමි, යාවදෙව උප්පන්නානං වෙය්‍යාබාධිකානං වෙදනානං පටිඝාතාය, අබ්‍යාපජ්ඣපරමතායාති.

## වචන මාලාව

1. පටිසඞ්ඛාය - මෙනෙහි කොට
2. යොනිසො - සිහිනුවණින්
3. පටිසෙවාමි - පරිහරණය කරමි
4. යාවදෙව - යම්තාක්
5. සීත - සීතල
6. පටිඝාත - නැසීම
7. උණ්හ - උෂ්ණය
8. ඩංස - ඇට මැස්සා (ඩැහැ ලේ බොන)
9. මකස - මදුරුවා
10. වාත - වාතය
11. ආතප - අව්ව
12. සිරිංසප - සර්පයා
13. සම්ඵස්ස - ස්පර්ශය
14. හිරිකොපීන - ලජ්ජා ඇතිවන තැන
15. පටිච්ඡාදන - වැසීම
16. දව - ක්‍රීඩාව
17. මද - මදය
18. මණ්ඩන - අලංකාරය
19. විභූසන - සැරසීම
20. ඨිති - පැවැත්ම
21. යාපන - යැපීම
22. විහිංසූපරති - බඩගිනි නැසීම
23. උතුපරිස්සය - ඍතුපීඩා
24. ඉති - මෙසේ
25. පටිසල්ලානාරාම - සිත එකඟකිරීමේ ඇලීම
26. වෙය්‍යාබාධික - විවිධ ආබාධ
27. උප්පාදෙස්සාමි - උපදවන්නෙමි
28. යාත්‍රා - ඉරියව් පැවැත්ම
29. ච - ද
30. අනවජ්ජ - නිවැරැදි
31. ඵාසුවිහාර - පහසු විහරණය
32. භවිස්සති - වන්නේ ය
33. අබ්‍යාපජ්ඣ - නිරෝගීබව/පීඩාරහිත බව
34. පරමතාය -උසස් කොට ඇති
35. සාධුකං - මනා කොට

## අනාගත කාලයේ ක්‍රියා පද සෑදීම

වර්තමාන කාලයේ ක්‍රියාපද පිළිබඳ අපි මුල දී උගත්තෙමු. අනාගත කාලයේ ක්‍රියාපද සැකසීමේ දී භාවිත වන ප්‍රත්‍යය සයක් (6) ක් තිබේ. ඒ මෙසේ ය.

**අනාගත කාල භවිස්සන්ති ප්‍රත්‍ය මාලාව**

| පුරිස | ඒකවචන | බහුවචන |
|---|---|---|
| පඨම පුරිස | ඉස්සති | ඉස්සන්ති |
| මජ්ඣිම පුරිස | ඉස්සසි | ඉස්සථ |
| උත්තම පුරිස | ඉස්සාමි | ඉස්සාම |

- මේ ප්‍රත්‍යය ක්‍රියාපදයක අග දක්නට ලැබේ නම් ඒවා අනාගත කාලයේ ක්‍රියාපද ලෙස හඳුනාගැනීමට පහසු ය.
- මෙම පාඩමේ අප කියවන ලද පාඨයන්හි ***"උප්පාදෙස්සාමි", "භවිස්සති"*** වශයෙන් ක්‍රියාපද දෙකක් අපට දක්නට ලැබුණි.
- එම පද දෙක අනාගත කාලයේ බව මේ ප්‍රත්‍යය දෙස බැලීමෙන් පෙනේ.

- භාසිස්සති යන ක්‍රියාපදය උදාහරණයක් ලෙස ගෙන ඉතිරි පුරුෂවල ද වරනැගෙන අයුරු බලන්න.

| පුරිස | ඒකවචන | බහුවචන |
|---|---|---|
| පඨම පුරිස | භාසිස්සති | භාසිස්සන්ති |
| මජ්ඣිම පුරිස | භාසිස්සසි | භාසිස්සථ |
| උත්තම පුරිස | භාසිස්සාමි | භාසිස්සාම |

මෙහි අර්ථය මෙසේ ය.

| පුරුෂ | ඒකවචන | බහුවචන |
|---|---|---|
| ප්‍රථම පුරුෂ | කියන්නේ ය | කියන්නෝ ය |
| මධ්‍යම පුරුෂ | කියන්නෙහි | කියන්නෙහු |
| උත්තම පුරුෂ | කියන්නෙමි | කියන්නෙමු |

අනාගත කාලයේ සරල වාක්‍ය නිර්මාණය කරන අයුරු බලන්න.

උදාඃ-

01. ඔහු කියන්නේ ය. - සො භාසිස්සති.

02. මිනිස්සු කියන්නෝ ය. - මනුස්සා භාසිස්සන්ති.

03. නුඹ කියන්නෙහි. - ත්වං භාසිස්සසි.

04. නුඹලා කියන්නෙහු. - තුම්හෙ භාසිස්සථ.

05. මම කියන්නෙමි. - අහං භාසිස්සාමි.

06. අපි කියන්නෙමු. - මයං භාසිස්සාම.

## අභ්‍යාසය - 12 - 1

1. පහත සඳහන් වගන්ති සිංහලට නගන්න.
    1. බුද්ධො ධම්මං දෙසෙස්සති.
    2. දෙවා සාධුකං භාසිස්සන්ති.
    3. මනුස්සා කම්මං කරිස්සන්ති.
    4. සො තං පස්සිස්සති.
    5. ත්වං කිං පචිස්සසි?

2. පහත සඳහන් අනාගත කාලික වගන්ති පාලියට නගන්න.
    1. මව දරුවාට කිරි දෙන්නී ය.
    2. මම පාඩම් කරන්නෙමි.
    3. නුඹලා කුමක් කියන්නෙහු ද?
    4. භික්ෂුව ධර්මය දේශනා කරන්නේ ය.
    5. බුදුවරු මතු උපදින්නා හ.

3. නාමපදයක්, කර්මපදයක් හා ක්‍රියාපදයක් නිවැරැදි ව ගළපා අනාගත කාලයෙහි පාලි වාක්‍ය පහක් නිර්මාණය කරන්න.

4. ඔබ කැමති ක්‍රියා පද දෙකක් අනාගත කාලයේ පුරුෂ තුනෙහි වරනගා අර්ථය ලියන්න.

5. පිණ්ඩපාත ප්‍රත්‍යවේක්ෂාව සිංහලට නගන්න.

## මෙම ක්‍රියාපදවල අර්ථ පාඩම් කරන්න.

1. කිණිස්සති - මිල දී ගන්නේ ය.
2. සුණිස්සති - අසන්නේ ය.
3. පෙසෙස්සති - යවන්නේ ය.
4. වන්දිස්සති - වඳින්නේ ය.
5. නමිස්සති - නමදින්නේ ය.
6. වදිස්සති - කියන්නේ ය.
7. ආහරිස්සති - ගෙන එන්නේ ය.
8. ඡින්දිස්සති - සිඳින්නේ ය.
9. පිබිස්සති - බොන්නේ ය.
10. පචිස්සති - පිසන්නේ ය.
11. ලභිස්සති - ලබන්නේ ය.
12. පතිට්ඨිස්සති - පිහිටන්නේ ය.
13. ජානිස්සති - දැන ගන්නේය.
14. ගණ්හිස්සති - ගන්නේ ය.
15. බන්ධිස්සති - බඳින්නේ ය.
16. අනුබන්ධිස්සති - ලුහු බඳින්නේ ය.
17. චරිස්සති - හැසිරෙන්නේ ය.
18. සරිස්සති - සිහි කරන්නේ ය.
19. රොදිස්සති - හඬන්නේ ය.
20. ඔලොකෙස්සති - බලන්නේ ය.
21. කරිස්සති - කරන්නේ ය.
22. පඨිස්සති - පාඩම් කරන්නේ ය.
23. දෙසෙස්සති - දේශනා කරන්නේ ය.
24. උපපජ්ජිස්සති - උපදින්නේ ය.
25. දදිස්සති - දෙන්නේ ය./දෙන්නී ය.

# 13. මිගලුද්දකො

## තෙරසමො පාඨො



අම්හාකං කිර භගවතො පුබ්බ ලොකපජ්ජොතො ලොකනයනො ලොකතාණො කස්සපො නාම භගවා ලොකෙ උදපාදි, සදෙවකං ලොකං නිබ්බාණපුරං පාපෙන්තො. තස්මිං සමයෙ පච්චන්තගාමවාසිකො එකො මනුස්සො වනෙ මිගසූකරාදයො බන්ධිත්වා වජෙ කත්වා තෙ පොසෙන්තො, නිච්චං පාණාතිපාතං කත්වා, ජීවති. අපරභාගෙ සො පිණ්ඩායචරමානං එකං භික්ඛුං දිස්වා ගන්ත්වා, තස්ස <u>හත්ථම්හා පත්තං ගහෙත්වා</u> තං අත්තනො ගෙහං නෙත්වා පඤ්ඤත්තාසනෙ නිසීදාපෙත්වා, මිගසූකරමද්දවං උපනෙත්වා, භොජෙත්වා, දිවා මංසරසපිණ්ඩපාතං දත්වා, භුත්තාවසානෙ එකමන්තං නිසීදි.

(රසවාහිනී - සුරනිමලකථාවත්ථු)

## වචන මාලාව

1. ලොකපජ්ජෝත - ලොවට පහණක් බඳු
2. ලොකතාණ - ලොවරක්නා
3. වජෙ කත්වා - ගාල්කොට
4. ලොකනයන - ලෝකයට ඇසක් වූ
5. පාපෙති - පමුණුවයි
6. පච්චන්තගාමවාසී - පසල් ගමක වසන
7. පඤ්ඤත්තාසන - පැන වූ ආසනය
8. නිසීදාපෙති - හිඳුවයි
9. මිගසූකරමද්දව - මුව හා ඌරු මස්
10. උපනෙත්වා - ගෙනවිත්
11. භොජෙත්වා - අනුභව කරවා
12. එකමන්තං - එකත්පසෙක
13. මිගලුද්දකො - මුව වැද්දා
14. සුමෙ - හෙට

## පඤ්චමී විභක්තිය

ඉහත පාඩමේ ඉරි ඇඳි පදය යෙදී ඇත්තේ පඤ්චමී විභක්තියෙනි.

**පුරිසො තස්ස <u>හත්ථම්හා</u> පත්තං ගහෙත්වා දානං දදාති.**

(පුරුෂයා ඔහුගේ අතින් පාත්‍රය ගෙන දානය දෙයි.)

- වෙන්වීමක් සිදුවන්නේ යමකින් ද එය, පඤ්චමී විභක්තියෙන් තැබිය යුතු ය.
- බියවීමක් කියවෙන විට බියට හේතුවන පදය ද, පඤ්චමී විභක්තියෙන් තබයි.
- "**ගෙන්, කෙරෙන්**" යන අදහස් මෙහි ඇත.

**පඤ්චමී විභක්තිය යෙදී ඇති මේ වාක්‍ය බලන්න.**

- රුක්ඛමහා ඵලං පතති - ගසෙන් ගෙඩිය වැටෙයි.
- මිගො සීහමහා භායති - මුවා සිංහයාගෙන් බිය වෙයි.
- සො පාපා විරමති - හෙතෙම පවින් වැළකෙයි.
- සුරියො පබ්බතමහා උදෙති - හිරු පර්වතයෙන් උදාවෙයි.
- වානරො රුක්ඛමහා රුක්ඛං පක්ඛන්දති - වඳුරා ගසෙන් ගසට පනියි.

**පඤ්චමී විභක්තියේ නාමපද වරනැගෙන අයුරු බලන්න.**

| පඤ්චමී විභක්තිය | | |
|---|---|---|
| නාමය | ඒකවචන | බහුවචන |
| බුද්ධ | බුද්ධා, බුද්ධමහා, බුද්ධස්මා | බුද්ධෙභි, බුද්ධෙහි |
| අග්ගි | අග්ගිනා, අග්ගිමහා, අග්ගිස්මා | අග්ගීභි, අග්ගීහි |
| දණ්ඩී | දණ්ඩිනා, දණ්ඩිමහා, දණ්ඩිස්මා | දණ්ඩීභි, දණ්ඩීහි |
| භික්ඛු | භික්ඛුනා, භික්ඛුමහා, භික්ඛුස්මා | භික්ඛූභි, භික්ඛූහි |
| කඤ්ඤා | කඤ්ඤාය | කඤ්ඤාභි, කඤ්ඤාහි |
| නදී | නදියා, නජ්ජා | නදීභි, නදීහි |
| චිත්ත | චිත්තා, චිත්තමහා, චිත්තස්මා | චිත්තෙභි, චිත්තෙහි |
| සබ්බ | සබ්බමහා, සබ්බස්මා | සබ්බෙභි, සබ්බෙහි |
| ඉම | අස්මා, අමහා, ඉමමහා, ඉමස්මා | එහි, එභි, ඉමෙභි, ඉමෙහි |

## අභ්‍යාසය - 13 - 1

1. සිංහලට නගන්න.

    1. මූසිකො බිළාලම්හා භායති.

    2. මනුස්සා රුක්ඛම්හා පතති.

    3. ත්වං කම්හා භායසි?

    4. සකුණා පබ්බතම්හා උඩ්ඩෙන්ති.

    5. අහං ආරාමම්හා පරිවෙණං ගමිස්සාමි.

2. පාලියට නගන්න.

    1. මම අලියාගෙන් භය වෙමි.

    2. තවුසා උපාසකයාගෙන් පාත්‍රය ගනියි.

    3. චන්ද්‍රයා කුමකින් පායයි ද?

    4. කුමාරයෝ ප්‍රාසාදයෙන් නික්මෙති.

    5. තෙරුන්වහන්සේ හෙට පන්සලට වඩින සේක.

3. ඔබ දන්නා පඤ්චමී විභක්ත්‍යන්ත පද යොදා වගන්ති පහක් නිර්මාණය කරන්න.

4. පාඩමේ එන ඡේදය සිංහලට නගන්න.

**මෙම ශබ්දය වාචෝද්ග්‍රහණය කරන්න**

| අකාරාන්ත නපුංසක ලිංග - ''චිත්ත'' ශබ්දය - (සිත) | | |
|---|---|---|
| විභක්තිය | ඒකවචන | බහුවචන |
| පඨමා | චිත්තං | චිත්තා, චිත්තානි |
| ආලපන | (හෙ) චිත්ත, චිත්තා | (හෙ) චිත්තෙ, චිත්තානි |
| දුතියා | චිත්තං | චිත්තෙ, චිත්තානි |
| තතියා | චිත්තෙන | චිත්තෙහි, චිත්තෙභි |
| කරණ | චිත්තෙන | චිත්තෙහි, චිත්තෙභි |
| චතුත්ථී | චිත්තාය, චිත්තස්ස | චිත්තානං |
| පඤ්චමී | චිත්තා, චිත්තම්හා, චිත්තස්මා | චිත්තෙහි, චිත්තෙභි |
| ඡට්ඨී | චිත්තස්ස | චිත්තානං |
| සත්තමී | චිත්තෙ, චිත්තම්හි, චිත්තස්මිං | චිත්තෙසු |

# 14. මෙත්තානිසංසං

## චුද්දසමො පාඨො



එවං මේ සුතං, එකං සමයං භගවා සාවත්ථියං විහරති ජේතවනෙ <u>අනාථපිණ්ඩිකස්ස</u> ආරාමෙ. තත්‍ර ඛො භගවා භික්ඛූ ආමන්තෙසි භික්ඛවොති, භදන්තෙති තෙ භික්ඛූ භගවතො පච්චස්සොසුං. භගවා එතදවොච. මෙත්තාය භික්ඛවෙ චෙතො විමුත්තියා ආසෙවිතාය භාවිතාය බහුලීකතාය යානිකතාය වත්ථු කතාය අනුට්ඨිතාය පරිචිතාය සුසමාරද්ධාය එකා දසා නිසංසා පාටිකඞ්ඛා කතමෙ එකා දස? සුඛං සුපති, සුඛං පටිබුජ්ඣති, න පාපකං සුපිනං පස්සති, මනුස්සානං පියො හොති, අමනුස්සානං පියො හොති, දෙවතා රක්ඛන්ති, නාස්ස අග්ගි වා විසං වා සත්ථං වා කමති, තුවටං චිත්තං සමාධියති, මුඛවණ්ණො විප්පසීදති, අසම්මූළ්හො කාලං කරොති. උත්තරිං අප්පටිවිජ්ඣන්තො බ්‍රහ්මලොකූපගො හොති.

(මෙත්තානිසංසසුත්තං)

## වචන මාලාව

1. සමයං - කාලය
2. සාවත්ථියං - සැවැත් නුවර
3. තත්‍ර - එහි දී/එකල් හි
4. ආමන්තෙසි - ඇමතී ය
5. භදන්ත - ස්වාමීනි
6. ඉති - යැයි/යනුවෙන්
7. පච්චස්සොසුං - පිළිතුරු දුන්හ
8. එතදවොච - මෙසේ වදාළ හ
9. සුපති - නිදයි
10. පටිබුජ්ඣති - අවදිවෙයි
11. සුපිනං - සිහිනය
12. අස්ස - ඔහුට
13. විසං - විස/වස
14. සත්ථං - ආයුධය
15. කමති - වදියි / බලපාන
16. තුවටං - වහා
17. සමාධියති - සංසුන් වෙයි
18. මුඛවණ්ණො - මුහුණේ පැහැය
19. විප්පසීදති - පහදියි/වඩා ප්‍රසන්න වෙයි
20. අසම්මූළ්හො - නොමුළාව
21. කාලං කරොති - කළුරිය කරයි
22. උත්තරිං - උතුම් බව (මාර්ගඵල/ මතුයෙහි)
23. අප්පටිවිජ්ඣන්තො - නොපැමිණෙන්නේ නම්
24. බ්‍රහ්මලොකූපගො - බඹ ලොව යාම
25. මෙත්තා - මෛත්‍රිය
26. විමුත්තියා - විමුක්තිය
27. ආසෙවිතා - ඇසුරු කළ
28. භාවිතා - වඩන ලද
29. බහුලීකතා - බොහෝ කොට වඩන ලද

# ඡට්ඨී විභක්තිය

- භගවා <u>අනාථපිණ්ඩිකස්ස</u> ආරාමෙ විහරති.

(භාග්‍යවතුන් වහන්සේ <u>අනේපිඩු සිටුතුමාගේ</u> ආරාමයේ වාසය කරන සේක.)

ඡට්ඨී විභක්තියේ **'ගේ'** අර්ථය යෙදේ. මෙම වාක්‍යයේ **සිටුතුමාගේ** යන අදහස යොදා ඇත්තේ ඡට්ඨී විභක්තියෙනි.

**ඡට්ඨී විභක්තිය යෙදී ඇති මේ වාක්‍ය බලන්න.**

- ත්වං මිත්තස්ස පොත්ථකං හරසි - නුඹ මිතුරාගේ පොත ගෙන යහි.
- ආචරියො සිස්සානං පොත්ථකානි පස්සති - ගුරුවරයා ශිෂ්‍යයන්ගේ පොත් බලයි.
- කම්මකාරස්ස පුත්තො මඤ්චෙ සයති - කම්කරුවාගේ පුතා ඇඳේ නිදයි.
- ගජස්ස සොණ්ඩං දීඝං භවති - ඇතාගේ සොඬ දිගය.
- භූපාලා පණ්ඩිතානං ගාමෙ චරන්ති - රජවරු පණ්ඩිතයන්ගේ ගමේ හැසිරෙති.

ෂට්ඨී විභක්තියේ නාමපද වරනැගෙන අයුරු බලන්න.

| ෂට්ඨී විභක්තිය | | |
|---|---|---|
| නාමය | ඒකවචන | බහුවචන |
| බුද්ධ | බුද්ධාය, බුද්ධස්ස | බුද්ධානං |
| අග්ගි | අග්ගිනො, අග්ගිස්ස | අග්ගීනං |
| දණ්ඩි | දණ්ඩිනො, දණ්ඩිස්ස | දණ්ඩීනං |
| භික්ඛු | භික්ඛුනො, භික්ඛුස්ස | භික්ඛූනං |
| කඤ්ඤා | කඤ්ඤාය | කඤ්ඤානං |
| නදී | නදියා, නජ්ජා | නදීනං |
| චිත්ත | චිත්තස්ස | චිත්තානං |
| සබ්බ | සබ්බස්ස | සබ්බෙසං, සබ්බෙසානං |
| ඉම | අස්ස, ඉමස්ස | එසං, එසානං, ඉමෙසං, ඉමෙසානං |

## අභ්‍යාසය - 14 - 1

1. සිංහලට නගන්න.

    1. ත්වං කස්ස පුත්තො භවසි?

    2. දුට්ඨගාමිණීකුමාරො කාකවණ්ණතිස්සස්ස පුත්තො භවති.

    3. අහං තව පොත්ථකං ගණ්හාමි.

4. භික්ඛු උපාසකස්ස ගෙහං ගච්ඡති.

5. පුත්තා මිත්තානං සකුණෙ කිණන්ති.

2. පාලියට නගන්න.

1. අපි ගොවියන්ගේ ගොනුන් ගෙන යමු.

2. උපාසකයා තවුසාගේ චීවරය සෝදයි.

3. සොරු එළුවන්ගේ පාද සිඳිති.

4. මොණරු සූර්යයාගේ ආලෝකයෙන් නටති.

5. වෙළෙන්දා මිනිසාගේ ගොනා විකුණයි.

3. ඔබ දන්නා නාම පහක් යොදාගෙන ඡට්ඨී විභක්ත්‍යන්ත පද සාදා වාක්‍ය පහක් නිර්මාණය කරන්න.

4. ඔබ කැමති නාම දහයක ඡට්ඨී විභක්ත්‍යන්ත ඒකවචන රූප ලියන්න.

5. පාඩමේ ඇති ඡේදය සිංහලට නගන්න.

## මෙම ශබ්දය වාචෝද්ග්‍රහණය කරන්න

| අකාරාන්ත සර්වනාම පුල්ලිඞ්ග - ''සබ්බ'' ශබ්දය - (සියල්ල) | | |
|---|---|---|
| විභක්තිය | ඒකවචන | බහුවචන |
| පඨමා | සබ්බො | සබ්බෙ |
| ආලපන | (හෙ) සබ්බ, සබ්බා | (හෙ) සබ්බෙ |
| දුතියා | සබ්බං | සබ්බෙ |
| තතියා | සබ්බෙන | සබ්බෙහි, සබ්බෙහි |
| කරණ | සබ්බෙන | සබ්බෙහි , සබ්බෙහි |
| චතුත්ථි | සබ්බස්ස | සබ්බෙසං , සබ්බෙසානං |
| පඤ්චමී | සබ්බම්හා, සබ්බස්මා | සබ්බෙහි, සබ්බෙහි |
| ඡට්ඨී | සබ්බස්ස | සබ්බෙසං, සබ්බෙසානං |
| සත්තමී | සබ්බම්හි, සබ්බස්මිං | සබ්බෙසු |

# 15. කුසලාකුසලං

## පඤ්චදසමො පාඨො



මනොපුබ්බඞ්ගමා ධම්මා - මනොසෙට්ඨා මනොමයා;

මනසා චෙ පදුට්ඨෙන - භාසති වා කරොති වා

තතො නං දුක්ඛමන්වෙති - චක්කං'ව වහතො පදං

මනොපුබ්බඞ්ගමා ධම්මා - මනොසෙට්ඨා මනොමයා;

මනසා චෙ පසන්නෙන - භාසති වා කරොති වා

තතො නං සුඛමන්වෙති - ඡායාව අනපායිනී

<u>අක්කොච්ඡි</u> මං, අවධි මං, - <u>අජිනි</u> මං, <u>අහාසි</u> මෙ,

යෙ තං උපනය්හන්ති - වෙරං තෙසං න සම්මති

අක්කොච්ඡි මං, අවධි මං, - අජිනි මං, අහාසි මෙ,

යෙ තං න උපනය්හන්ති - වෙරං තෙසූපසම්මති.

(ධම්මපදය - යමක වග්ගය)

## වචන මාලාව

1. පුබ්බඞ්ගමා - පෙරටුකොට
2. මනොමයා - සිතින් ම උපන්
3. පදුට්ඨෙන - අතිශයින් දූෂිත
4. අන්වෙති - අනුව එයි
5. අක්කොච්ඡි - බැන්නේ ය
6. මං - මා, මට
7. අවධි - ගැසුවේ ය
8. අජිනි - පැරදුවේ ය
9. අහාසි - පැහැර ගත්තේ ය
10. යෙ - යමෙක්
11. තං - එය
12. උපනය්හන්ති - මනසින් බැඳෙත්
13. තෙසං - ඔවුන්ගේ
14. උපසම්මති - සන්සිඳෙයි

## අතීත කාලය

වර්තමාන හා අනාගත කාලවල ක්‍රියාපද පිළිබඳ අපි මුල දී උගත්තෙමු. අතීත කාලයේ ක්‍රියාපද සැකසීමේ දී ද භාවිත වන ප්‍රත්‍යය හයක් (6) තිබේ. ඒවා පහත වගුවෙහි දැක්වේ.

අතීතකාල (අජ්ජතනී) ප්‍රත්‍ය මාලාව

| පුරිස | ඒකවචන | බහුවචන |
| --- | --- | --- |
| පඨම පුරිස | ඉ | ඉංසු |
| මජ්ඣිම පුරිස | ඔ | ඉත්ථ |
| උත්තම පුරිස | ඉං | ඉම්හ |

- අතීත කාලයේ ක්‍රියාපද මුලට 'අ' අකුර යොදා කියනු ලැබේ.
- එසේ නැතිව ද ලිවීමට හැකි ය.
- එම නිසා අතීත පද ආකාර දෙකකින් පෙනී සිටියි.
- වගුවේ ඇති අකුරු, ක්‍රියා මූලයට එක් කළ විට එම පදය අතීත වේ.
- ඉහත පාඩමේ ගාථා දෙකෙහි අජිනි, අක්කොච්ඡි, අභාසි වැනි අතීත කාල ක්‍රියාපද කිහිපයක් හමු විය.
- ඒ අනුව අතීත කාලයේ ක්‍රියා පද හඳුනාගන්න.
- වර්තමාන හා අනාගත කාලවල මෙන් ම මෙහි දී පුරුෂ තුනෙහි ම වරනැගේ.

අතීත කාලයේ ක්‍රියාපද වරනැගෙන අයුරු බලන්න.

| පුරිස | ඒකවචන | බහුවචන |
|---|---|---|
| පඨම පුරිස | (අහව + ඉ) - අහවි<br>(හව + ඉ) - හවි | (අහව + ඉංසු) - අහවිංසු<br>(හව + ඉංසු) - හවිංසු |
| මජ්ඣිම පුරිස | (අහව + ඔ) - අහවො<br>(හව + ඔ) - හවො | (අහව + ඉත්ථ) - අහවිත්ථ<br>(හව + ඉත්ථ) - හවිත්ථ |
| උත්තම පුරිස | (අහව + ඉං) - අහවිං<br>(හව + ඉං) - හවිං | (අහව + ඉම්හ) - අහවිම්හ<br>(හව + ඉම්හ) - හවිම්හ |

එහි අර්ථය මෙසේ ය.

| පුරුෂ | ඒකවචන | බහුවචන |
|---|---|---|
| ප්‍රථම පුරුෂ | වීය | වූහ |
| මධ්‍යම පුරුෂ | වූවෙහි | වූවෙහු |
| උත්තම පුරුෂ | වූයෙමි | වූයෙමු |

## අතීත කාලයේ සරල වාක්‍ය නිර්මාණය කරන අයුරු බලන්න.

උදා:-

01. ඔහු කීවේ ය. - සො අභාසි.

02. මිනිස්සු කීහ. - මනුස්සා භාසිංසු.

03. නුඹ කීවෙහි. - ත්වං භාසො.

04. නුඹලා කීවෙහු. - තුම්හෙ අභාසිත්ථ.

05. මම කීවෙමි. - අහං අභාසිං.

06. අපි කීවෙමු. - මයං අභාසිම්හ.

## අභ්‍යාසය - 15 - 1

1. පහත සඳහන් වගන්ති සිංහලට නගන්න.

    1. සිගාලො වනං ගච්ඡි.
    2. සාරථී රථං ආනෙසි.
    3. මුනි ධම්මං අභාසි.
    4. දණ්ඩි යට්ඨිනා භොගිං පහරි.
    5. කපයො අහිනො සීසං පහරිංසු.

2. පහත සඳහන් වගන්ති පාලියට නගන්න.

1. පච්කාරයා බල්ලාට ගැසුවේ ය.
2. ඉසිවරු බෝධිය ද බුදුන් ද වැන්දහ.
3. නැයෝ ආගන්තුකයන්ට එළුවන් දුන්හ.
4. තොපි සිටුවරුන්ගේ ප්‍රාසාදවල කුමක් කළෙහු ද?
5. වධකයා කඩුවෙන් සොරාගේ හිස සින්දේ ය.

3. ඔබ උදෑසන පිබිදී කරන ලද ක්‍රියා පහක් යොදා ගෙන අතීත කාලයේ පාලි වාක්‍ය පහක් නිර්මාණය කරන්න.

4. ක්‍රියාපද දහයක් කාල තුනෙහි පඨම පුරුෂ ඒකවචනයෙහි වරනගා පහත සඳහන් වගුව පුරවන්න. (මේ සඳහා ඔබගේ අභ්‍යාස පොත භාවිත කරන්න)

| පඨම පුරිස ඒකවචන | | |
|---|---|---|
| වර්තමාන කාලය | අනාගත කාලය | අතීත කාලය |
| උදා :- භවති | භවිස්සති | අභවි |

5. ඔබ කැමති ක්‍රියා මූල (ධාතු) දෙකක් අතීත කාලයේ පුරුෂ තුනෙහි වරනගා අර්ථය ලියන්න.

6. මෙම පාඩමේ ඇති ගාථා සිංහලට නගන්න.

## මෙම ක්‍රියාපදවල අර්ථ පාඩම් කරන්න.

1. පාලයි - පාලනය කළේ ය
2. නච්චි - නැටුවේ ය
3. ජීවි - ජීවත් වි ය
4. නහායි - නෑවේ ය
5. ඩසි - දෂ්ට කළේ ය
6. මාරෙසි - මැරුවේ ය
7. අකිණි - මිලට ගත්තේ ය
8. වික්කිණි - විකුණුවේ ය
9. අයාචි - ඉල්ලුවේ ය
10. රක්ඛි - රැක්කේ ය
11. අකීළි - සෙල්ලම් කළේ ය
12. අතරි - තරණය කළේ ය
13. අගායි - ගායනා කළේ ය
14. අපූරි - පිරවී ය
15. අජයි - දිනුවේ ය
16. ඨපි - තැබුවේ ය
17. වස්සි - වැස්සේ ය
18. වඩ්ඪි - වැඩුවේ ය
19. අදාසි - දුන්නේ ය
20. අචින්තී - සිතුවේ ය

# 16. කුක්කුටො

## සොළසමො පාඨො



මනුස්සානං පක්ඛීසු කුක්කුටො උපකාරකො. තස්මා බහවො මනුස්සා කුක්කුටෙ පොසෙන්ති. තෙ ධඤ්ඤකණාදීනි භුඤ්ජන්ති. දිවා භාගෙ ගෙහස්ස අවිදූරෙ ඉතො චිතො ආහිණ්ඩන්ති. සූරියෙ අත්ථං ගච්ඡන්තෙ තෙ නිවාසං ආගච්ඡන්ති. රත්තියං රුක්ඛෙසු වා පඤ්ජරෙසු වා සයන්ති. තෙ සබ්බෙසං ජනානං පඨමතරං පබුජ්ඣිත්වා රවන්ති. තෙන සද්දෙන මනුස්සා පබුජ්ඣන්ති. කාලං මඤ්ඤය පාතො'ව සකෙ සකෙ කම්මෙ නියුජ්ජන්ති. කුක්කුටස්ස සිරසි චූළා වත්තතෙ. න තථා කුක්කුටියා සිරසි. තතො කුක්කුටියා අධිකතරං කුක්කුටො සොභතෙ.

කුක්කුටියා අණ්ඩෙහී සාබකා උප්පජ්ජන්ති. කුක්කුටපොතකා කුක්කුටියා සද්ධිං සඤ්චරන්ති. අපි නු ත්වං ඉච්ඡසි කුක්කුටෙ පොසෙතුං ?

(පාලි රචනා 1 - පණ්ඩිත බද්දේගම විමලවංස අනුනාහිමි)

## වචන මාලාව

1. කුක්කුටො - කුකුළා
2. උපකාරකො - උදව්කරුවා
3. තස්මා - ඒ නිසා
4. පොසෙති - පෝෂණය කරයි
5. ධඤ්ඤකණාදීනි - ධාන්‍ය කැබලි
6. අවිදූරෙ - නුදුරෙහි
7. ඉතො චිතො - ඔබ මොබ
8. ආහිණ්ඩන්ති - ඇවිදිති
9. පඤ්ජරෙසු - කූඩුවල
10. රවති - නාද කරයි
11. මඤ්ඤාය - දැන
12. සකෙ සකෙ - තම තමන්ගේ
13. නියුජ්ජන්ති - යෙදෙත්
14. සිරසි - හිසේ
15. චූළා - කරමලය (කුඩුම්බිය)
16. සාඛකා - පැටවු

## සත්තමී විභත්තිය

ඉහත ඡේදයේ ඉරි ඇඳි වාක්‍ය දෙස නැවත බලන්න.

- තෙ රුක්ඛෙසු වා පඤ්ජරෙසු වා සයන්ති.

  (ඔවුහු ගස්වල හෝ කූඩුවල නිදා ගනිති.)

- ඔවුන්ට නිදා ගැනීමට උපකාර වූ ස්ථාන කියවෙන පද තබා ඇත්තේ සත්තමී විභත්තියෙනි.

- **ගස** හා **කූඩුව** කුකුළාට නිදා ගැනීමට ආධාර වී ඇත.

- ගෙහි, කෙරෙහි, වල, මත ආදී ආධාර බවක් කියවෙන විට ඒ පදය සත්තමී විභක්තියෙන් තබනු ලැබේ.

**සත්තමී විභක්තිය යෙදී ඇති මේ වගන්ති බලන්න.**

- මනුස්සා <u>ගාමෙසු</u> චරන්ති - මනුෂ්‍යයෝ <u>ගම්වල</u> ඇවිදිති.
- හීයො අහං <u>ගිරිසු</u> පක්ඛිනො අපස්සිං - ඊයේ මම <u>කඳුවල</u> පක්ෂීන් දුටුවෙමි.
- මච්ඡා <u>උදධීසු</u> ජීවන්ති - මාළුවෝ <u>මුහුදුවල</u> ජීවත් වෙති.
- මුනයො සෙට්ඨිනො <u>පාසාදෙ</u> දානං භුඤ්ජිංසු - මුනිවරු <u>සිටුවරයාගේ</u> <u>ප්‍රාසාදයේ</u> දන් වැළඳූහ.
- දීපියො <u>අටවීසු</u> මිගෙ මාරෙන්ති - දිවියෝ <u>කැලෑවල</u> මුවන් මරති.

**සත්තමී විභක්තියේ නාමපද වරනැගෙන අයුරු බලන්න.**

| සත්තමී විභක්තිය | | |
|---|---|---|
| නාමය | ඒකවචන | බහුවචන |
| බුද්ධ | බුද්ධෙ, බුද්ධම්හි, බුද්ධස්මිං | බුද්ධෙසු |
| අග්ගි | අග්ගිම්හි, අග්ගිස්මිං | අග්ගිසු |
| දණ්ඩී | දණ්ඩිනි, දණ්ඩිම්හි, දණ්ඩිස්මිං | දණ්ඩීසු |
| භික්ඛු | භික්ඛුම්හි, භික්ඛුස්මිං | භික්ඛුසු, භික්ඛූසු |
| කඤ්ඤා | කඤ්ඤායං, කඤ්ඤාය | කඤ්ඤාසු |
| නදී | නජ්ජං, නදියං, නදියා | නදීසු |
| චිත්ත | චිත්තෙ, චිත්තම්හි, චිත්තස්මිං | චිත්තෙසු |

| | | |
|---|---|---|
| සබ්බ | සබ්බම්හි, සබ්බස්මිං | සබ්බේසු |
| ඉම | අම්හි, අස්මිං, ඉමම්හි, ඉමස්මිං | එසු, ඉමේසු |

## අභ්‍යාසය - 16 - 1

1. සිංහලට නගන්න.
    1. අයං කුක්කුටො ගාමෙ ජීවති.
    2. ත්වං ඉමිනා අග්ගිනා ගෙහෙසු පදීපානි ජාලෙසි.
    3. ඉමස්මිං නගරෙ පණ්ණසාලං නත්ථි.
    4. හත්ථිනො ගෙහෙසු න වසිස්සන්ති.
    5. සාරථිනො අසෙස රථෙසු බන්ධිංසු.

2. පාලියට නගන්න.
    1. මේ පන්සලේ භික්ෂූහු වාසය කරති.
    2. වඳුරෝ ගස්වල ජීවත් වන්නාහ.
    3. සාගරවල මැණික් ඇත.
    4. නැව ගංගාවල ගමන් නොකරයි.
    5. තෝ මේ කඩු රථවල තබහි.

3. ඔබ දන්නා නාම පහක් යොදා ගෙන සත්තමී විභක්ත්‍යන්ත පද ඇතුළත් වන සේ වගන්ති පහක් නිර්මාණය කරන්න.

4. පාඩමේ ඇති ඡේදය සිංහලට නගන්න.

5. අකාරාන්ත, ඉකාරාන්ත, උකාරාන්ත ආදී ඔබ මෙතෙක් උගත් සියලු ශබ්දවල වෙනස්කම් හොඳින් බලා නැවත කියවා පුහුණු වන්න.

**මෙම ශබ්දය වාචෝද්ග්‍රහණය කරන්න**

| අකාරාන්ත පුලලිඞග - ''ඉම'' ශබ්දය - (මේ, මොහු, මෙතෙම) | | |
|---|---|---|
| විභක්තිය | ඒකවචන | බහුවචන |
| පඨමා | අයං | ඉමෙ |
| ආලපන | --- | --- |
| දුතියා | ඉමං | ඉමෙ |
| තතියා | අනෙන, ඉමිනා | එහි, එභි, ඉමෙහි, ඉමෙභි |
| කරණ | අනෙන, ඉමිනා | එහි, එභි, ඉමෙහි, ඉමෙභි |
| චතුත්ථි | අස්ස, ඉමස්ස | එසං, එසානං, ඉමෙසං, ඉමෙසානං |
| පඤ්චමී | අම්හා, අස්මා, ඉමම්හා, ඉමස්මා | එහි, එභි, ඉමෙහි, ඉමෙභි |
| ඡට්ඨී | අස්ස, ඉමස්ස | එසං, එසානං, ඉමෙසං, ඉමෙසානං |
| සත්තමී | අම්හි, අස්මිං, ඉමම්හි, ඉමස්මිං | එසු, ඉමෙසු |

# 17. මච්ඡරී බ්‍රාහ්මණො

## සත්තදසමො පාඨො



සාවත්ථියං අදින්නපුබ්බකො නාම බ්‍රාහ්මණො අහොසි. තෙන කස්සචි කිඤ්චි න දින්නපුබ්බං. තස්ස එකො'ව පුත්තො අහොසි පියො මනාපො. බ්‍රාහ්මණො පුත්තස්ස පිලන්ධනං දතුකාමො ''සචෙ සුවණ්ණකාරස්ස ආචික්ඛිස්සාමි, වෙතනං දතබ්බං භවිස්සතී''ති සය'මෙව සුවණ්ණං කොට්ටෙත්වා මට්ටානි කුණ්ඩලානි කත්වා අදසි; තෙන'ස්ස පුත්තො 'මට්ටකුණ්ඩලී'ති පඤ්ඤායි.

තස්ස සොළසවස්සකාලෙ පණ්ඩුරොගො උදපාදි. බ්‍රාහ්මණො වෙජ්ජානං සන්තිකං ගන්ත්වා ''තුම්හෙ අසුකරොගස්ස කිං භෙසජ්ජං කරොථා''ති පුච්ඡි. තෙ අස්ස යං වා තං වා රුක්ඛතචාදිං ආචික්ඛිංසු. සො තං ආහරිත්වා භෙසජ්ජං කරි. තථා කරොන්තස්සෙ'ව තස්ස රොගො බලවා අහොසි. බ්‍රාහ්මණො තස්ස දුබ්බලභාවං ඤත්වා එකං වෙජ්ජං පක්කොසි. සො තං ඔලොකෙත්වා ''අම්හාකං එකං කිච්චං අත්ථි; අඤ්ඤං වෙජ්ජං පක්කොසිත්වා තිකිච්ඡාපෙහී'' ති වත්වා නික්ඛමි.

(පාලි පාඨාවලී 2 - පොල්වත්තේ බුද්ධදත්ත මහානායක ස්ථවිර)

## වචන මාලාව

1. කස්සචි - කිසිවකුට
2. කිඤ්චි - කිසිවක්
3. එව - ම
4. අහොසි - වීය
5. කොට්ටෙත්වා - තළා/කොටා
6. මට්ඨානි - මට්ටම් වූ
7. කුණ්ඩලානි - කුණ්ඩලාභරණ
8. කත්වා - කොට
9. පිලන්ධනං - පළඳනාව
10. තෙන - එයින්
11. පඤ්ඤායි - ප්‍රසිද්ධ වීය
12. සොළසවස්සකාලෙ - සොළොස් වැනි වියේ දී
13. උදපාදි - හටගත්තේ ය/උපන්නේ ය
14. වෙජ්ජං - වෛද්‍යවරයා
15. ගන්ත්වා - ගොස්
16. අසුකරොගස්ස - අසවල් රෝගයට
17. භෙසජ්ජං - බෙහෙත
18. පුච්ඡි - විමසුවේ ය
19. ආහරිත්වා - ගෙනැවිත්
20. බලවා - බලවත්
21. ඤත්වා - දැන
22. ඔලොකෙත්වා - බලා
23. තිකිච්ඡාපෙහි - ප්‍රතිකාර කරව ව
24. වත්වා - කියා
25. ආනෙසි - ගෙනාවේ ය
26. රුක්ඛතචා දිං - ගස් පොතු ආදිය
27. කටච්ඡු - හැන්ද

# පූර්ව ක්‍රියා පද

**පූර්ව ක්‍රියාවක් යනු අවසාන ක්‍රියාවට පෙර කොට නිම වූ ක්‍රියා ය.**

- **බ්‍රාහමණො වෙජ්ජානං සන්තිකං <u>ගන්ත්වා</u> පුච්ඡි.**

  (බමුණා වෛද්‍යවරුන් ළඟට ගොස් විමසී ය.)
- වාක්‍ය තැනීමේදී පූර්ව ක්‍රියා පද බොහෝ උපකාර වේ.
- සිංහල භාෂාවේ දී කා, බී, නටා, ගයා, කියා, දුව, පැන ආදිය පූර්ව ක්‍රියා පද ලෙස හඳුන්වනු ලැබේ.
- ඒවා පාලි භාෂාවෙන් සකසා ගන්නා ආකාරය උගනිමු.
- ඉහත වාක්‍යයේ ඉරි ඇඳි පදයේ අග අකුර දෙස බලන්න. <u>ත්වා</u>
- ''ත්වා'' යන ප්‍රත්‍යය පූර්ව ක්‍රියා සාදා ගැනීමේ දී ක්‍රියා මූලය අගට එක් කරනු ලැබේ.
- ''ත්වාන'' යනු ඒ වෙනුවට එක් කළ හැකි තවත් ප්‍රත්‍යයකි.

**මේ පූර්ව ක්‍රියා පද සාදා ඇති ආකාරය බලන්න.**

| ත්වා | | | |
|---|---|---|---|
| ක්‍රියා මූලය | ප්‍රත්‍යය | පූර්ව ක්‍රියාව | අර්ථය |
| පච | ත්වා | පචිත්වා | පිස |
| ධාව | ත්වා | ධාවිත්වා | දුව/දුවලා/දුවගොස් |
| හස | ත්වා | හසිත්වා | සිනාසී |
| දා | ත්වා | දදිත්වා - දත්වා | දී |
| ගච්ඡ | ත්වා | ගච්ඡිත්වා | ගොස් |

| ත්වාන | | | |
|---|---|---|---|
| ක්‍රියා මූලය | ප්‍රත්‍යය | පූර්ව ක්‍රියාව | අර්ථය |
| පච | ත්වාන | පචිත්වාන | පිස |
| ධාව | ත්වාන | ධාවිත්වාන | දුව/දුවලා/දුවගොස් |
| හස | ත්වාන | හසිත්වාන | සිනාසී |
| දා | ත්වාන | ත්වාන - දත්වාන | දී |
| ගච්ඡ | ත්වාන | ගච්ඡිත්වාන | ගොස් |

**පූර්ව ක්‍රියා පද යොදා සකසා ඇති මේ වගන්ති දෙස බලන්න.**

- අහං පාතොව **පබුජ්ඣිත්වා** මුඛං ධොවාමි.

  මම උදේ ම නැගිට මුහුණ සෝදමි.

- සාමණෙරො විහාරං **ගන්ත්වාන** බුද්ධං වන්දති.

  සාමණේරයන් වහන්සේ විහාරයට ගොස් බුදුන් වඳින සේක.

- වෙජ්ජො ගෙහං **පවිසිත්වා** ගිලානං පස්සති.

  වෛද්‍යවරයා ගෙදරට පැමිණ රෝගියා බලයි.

- තාපසො හිමාලයං **වසිත්වාන** චිත්තං වඩ්ඪති.

  තවුසා හිමාලයෙ වාසය කොට සිත වඩයි.

- වානරා රුක්ඛං **ආරුහිත්වා** ඵලානි ඛාදිංසු.

  වඳුරෝ ගසට නැග ගෙඩි කෑහ.

## අභ්‍යාසය - 17 - 1

01. සිංහලට නගන්න.

1. කපයො තරුසු නිසීදිත්වා එලෙහි මනුසෙස පහරිංසු.
2. උපාසකො ධම්මං සුත්වා භික්ඛුං වන්දිත්වා ගෙහං ගන්ත්වා භත්තං භුඤ්ජි.
3. ගොපාලො පසවෙහි සද්ධිං සින්ධුං ගන්ත්වා සින්ධුම්හි නහායිත්වා පසවො ගහෙත්වා ගෙහං පවිසිත්වා බන්ධුනො ගෙහං ගච්ඡි.
4. සීහො මිගං මාරෙත්වා ඛාදිත්වා වනං පාවිසි.
5. අහං කටච්ඡුං ගහෙත්වා භික්ඛුනො පත්තෙ දානං පූජෙත්වා වන්දාමි.

02. පාලියට නගන්න.

1. ඇත්ගොව්වා පොරවෙන් ගස් කපා ඇතුන්ට දුන්නේ ය.
2. ගුරුවරු වෙළෙන්දන්ගෙන් කොඩි මිළට ගෙන සිසුන්ට දුන්හ.
3. තාපසයා සිටුමැදුරෙහි දානය වළඳා බණ කියා නික්මුණි.
4. මුවා සිංහයෙකු දැක බිය වී දුව ගොස් කන්දෙන් පැන්නේ ය.
5. අපි මල් කඩා විහාරයට ගොස් බුදුන් වැඳ ඥාතීන්ට පින් දෙමු.

03. ඔබ දන්නා ක්‍රියාපද 5ක් සොයා, ඒවා පූර්ව ක්‍රියා කර වාක්‍යය බැගින් තනන්න.

04. ක්‍රියාපද විස්සක් පූර්ව ක්‍රියා රූපය සාදා පුහුණු වන්න.

05. පාඩමේ ඇති ඡේදය සිංහලට නගන්න.

මෙම ශබ්දය වාචෝද්ග්‍රහණය කරන්න.

| අකාරාන්ත නපුංසක ලිංග - ''ඉම'' ශබ්දය - (මෙය) | | |
|---|---|---|
| විභක්තිය | ඒකවචන | බහුවචන |
| පඨමා | ඉදං, ඉමං | ඉමෙ, ඉමානි |
| ආලපන | --- | --- |
| දුතියා | ඉදං, ඉමං | ඉමෙ, ඉමානි |
| තතියා | අනෙන, ඉමිනා | එහි, එභි, ඉමෙහි, ඉමෙභි |
| කරණ | අනෙන, ඉමිනා | එහි, එභි, ඉමෙහි, ඉමෙභි |
| චතුත්ථි | අස්ස, ඉමස්ස | එසං, එසානං, ඉමෙසං, ඉමෙසානං |
| පඤ්චමී | අම්හා, අස්මා, ඉමම්හා, ඉමස්මා | එහි, එභි, ඉමෙහි, ඉමෙභි |
| ඡට්ඨී | අස්ස, ඉමස්ස | එසං, එසානං, ඉමෙසං, ඉමෙසානං |
| සත්තමී | අම්හි, අස්මිං, ඉමම්හි, ඉමස්මිං | එසු, ඉමෙසු |

| අකාරාන්ත ඉත්ථි ලිංග - ''ඉම'' ශබ්දය - (මෑ, මැය) | | |
|---|---|---|
| විභක්තිය | ඒකවචන | බහුවචන |
| පඨමා | අයං | ඉමා, ඉමායො |
| දුතියා | ඉමං | ඉමා, ඉමායො |
| තතියා | ඉමාය | ඉමාහි, ඉමාභි |
| කරණ | ඉමාය | ඉමාහි, ඉමාභි |
| චතුත්ථි | අස්සා, අස්සාය, ඉමාය, ඉමිස්සා, ඉමිස්සාය | ඉමාසං, ඉමාසානං |
| පඤ්චමී | ඉමාය | ඉමාහි, ඉමාභි |
| ඡට්ඨී | අස්සා, අස්සාය, ඉමාය, ඉමිස්සා, ඉමිස්සාය | ඉමාසං, ඉමාසානං |
| සත්තමී | අස්සං, ඉමිස්සං, ඉමායං | ඉමාසු |

# 18. ධාතුසෙනො නරිස්සරො

## අට්ඨාරසමො පාඨො



පුබ්බෙ අනුරාධපුරං නාම අග්ගනගරං අහොසි. තස්මිං නගරෙ මහානාමො නාම මහාථෙරො විහාසි. සො පණ්ඩිතො, සද්දසත්ථ කොවිදෙ, මෙධාවි ච භවති. තස්මිං නගරෙ දහරො රාජකුමාරො ච විහාසි. ධාතුසෙනො නාම තස්ස නාමං. සො කුමාරො අනුදිනං මහාවිහාරං ගච්ඡති. සො පච්ඡා පරොපද්දව භයෙන මහානාමථෙරස්ස සන්තිකෙ පබ්බජි. සො සාමණෙරො එකදා අත්තනො ආචරියෙන සද්ධිං පච්චන්තං අගමි. ගමනමග්ගෙ එකං කුන්නදිං දිස්වා මහානාම ථෙරො එවමාහ. ''භො! සාමණෙර! යදි ත්වං අස්මිං දීපෙ රජ්ජං ලභෙය්‍ය; තදා එත්ථ එකං වාපිං බන්ධාපෙහීති''

සො සාමණෙරො පච්ඡා උප්පබ්බජිත්වා ලඞ්කාරජ්ජං ලභි. සො රාජා අතීව ධම්මිකො අත්තනො ආචරියස්ස වචනං සරිත්වා තත්ථ වාපිං බන්ධාපෙසි. අජ්ජ සා වාපි ''කලාවාපී'' ති පඤ්ඤායති.

(පාලි රචනා 1 - පූජ්‍ය බද්දේගම විමලවංස අනුනායක ස්ථවිර)

## වචන මාලාව

1. පුබ්බෙ - පෙර
2. අග්ගනගරං - අගනුවර
3. විහාසි - වාසය කළේ ය
4. මෙධාවි - නුවණැත්තා
5. අනුදිනං - දිනපතා
6. පරොපද්දවභයෙන - සතුරු උවදුරු බියෙන්
7. පබ්බජි - පැවිදි විය
8. භො - පින්වත්
9. යදි - ඉදින්, යම් හෙයකින්
10. දීපෙ - රටෙහි
11. රජ්ජං - රාජ්‍යය
12. ලභෙය්‍ය - ලබන්නේ නම්
13. බන්ධාපෙහි - කරව, බඳව
14. අතී'ව - අතිශයින්ම
15. අත්තනො - තමාගේ
16. සරිත්වා - සිහි කොට
17. කලාවාපි - කලා වැව
18. පඤ්ඤායති - ප්‍රසිද්ධයි
19. උපසම්පජ්ජිත්වා - උපැවිදි වී

# නිපාත පද

''හො, ච, යදි, තදා, ඉව'' යන පද ඉහත පාඩමෙන් අපට හමුවිය. මේ පද නිපාත පද නමින් හැඳින්වෙයි. භාෂාව පහසුවෙන් ලිවීම සඳහා අපට නිපාත පද අවශ්‍ය වේ.

- නිපාත පද සෑම තැන ම එක ම ආකාරයට පවතියි.
- විභක්ති අනුව වෙනස් නොවේ.
- කාල අනුව වෙනස් නොවේ.
- ඒකවචන බහුවචන භේදයක් ද නැත.

**නිපාත පද භාවිත කොට තැනූ මේ වාක්‍ය දෙස බලන්න.**

- **මාතා <u>ච</u> පිතා <u>ච</u> ගෙහං ගච්ඡන්ති** - මව ද පියා ද ගෙදර යති.
- **අහං පත්තං <u>වා</u> පුප්ඵං <u>වා</u> සාඛං <u>වා</u> ලභිතුං ඉච්ඡාමි** - මම කොළයක් හෝ මලක් හෝ  අත්තක් හෝ ලැබීමට කැමැති වෙමි.
- **<u>යථා</u> ඉදං පුප්ඵං මිලායාති <u>තථා</u> මෙ කායො විනාසභාවං යාති** - යම්සේ මේ මල මැලවේ ද එසේ මාගේ ශරීරය විනාශයට යයි.
- **සො <u>හීයො</u> ගාමං අගමාසි** - හෙතෙම ඊයේ ගමට ගියේ ය.
- **ඉමෙ චොරා <u>කිර</u> <u>අජ්ජ</u> තව ගෙහං ආගමිස්සන්ති** - මේ හොරු වනාහි අද නුඹේ ගෙදරට එන්නාහ.

## අභ්‍යාසය - 18 - 1

01. සිංහලට නගන්න.

1. ආම, මයං පුන එවං න කරිස්සාම.
2. යත්‍ථ අම්බු හොති තත්‍ථ පදුමානි ජායන්ති.
3. යාව තව ගරවො ඉධ ආගච්ඡිස්සන්ති තාව ත්‍වං ඉධ තිට්ඨාහි.
4. වාණිජා ගාමම්හා බහි වසිස්සන්ති.
5. සො ඛිප්පං ධම්මං විජානාති.

02. පාලියට නගන්න.

1. නුඹලා හෝ අපි හෝ එහි යමු.
2. සමුද්‍රය හාත්පස පර්වතයෝ වෙත්.
3. ඉදින් නුඹ එහි යන්නෙහි නම් මම ද නුඹ සමග එන්නෙමි.
4. මහණ, පිටවෙන්න යැයි ආලවක යක්ෂයා කීවේ ය.
5. ගවයෝ ගස යට තණ කති.

03. ඔබ දන්නා නිපාත පද පහක් යොදා වාක්‍ය පහක් තනන්න.

04. මෙතෙක් ඔබට පාලි භාෂා පොත් ඉගෙනීමේ දී හමු වී ඇති නිපාත පද ලැයිස්තුවක් සාදන්න.

05. මෙම පාඩමේ ඇති ඡේද සිංහලට නගන්න.

**මෙම ශබ්දය වාචෝද්ග්‍රහණය කරන්න.**

| අකාරාන්ත සර්වනාම නපුංසක ලිංග - ''සබ්බ'' ශබ්දය - (සියල්ල) | | |
|---|---|---|
| විභක්තිය | ඒකවචන | බහුවචන |
| පඨමා | සබ්බං | සබ්බෙ, සබ්බානි |
| ආලපන | (හෙ) සබ්බ, සබ්බා | (හෙ) සබ්බෙ, සබ්බානි |
| දුතියා | සබ්බං | සබ්බෙ, සබ්බානි |
| තතියා | සබ්බෙන | සබ්බෙහි, සබ්බෙභි |
| කරණ | සබ්බෙන | සබ්බෙහි, සබ්බෙභි |
| චතුත්ථී | සබ්බස්ස | සබ්බෙසං, සබ්බෙසානං |
| පඤ්චමී | සබ්බම්හා, සබ්බස්මා | සබ්බෙහි, සබ්බෙභි |
| ඡට්ඨී | සබ්බස්ස | සබ්බෙසං, සබ්බෙසානං |
| සත්තමී | සබ්බම්හි, සබ්බස්මිං | සබ්බෙසු |

| අකාරාන්ත සර්වනාම ඉත්ථි ලිංග - ''සබ්බ'' ශබ්දය - (සියල්ල) | | |
|---|---|---|
| විභක්තිය | ඒකවචන | බහුවචන |
| පඨමා | සබ්බා | සබ්බා, සබ්බායො |
| ආලපන | (හෙ) සබ්බෙ | (හෙ) සබ්බා, සබ්බායො |
| දුතියා | සබ්බං | සබ්බා, සබ්බායො |
| තතියා | සබ්බාය | සබ්බාහි, සබ්බාභි |
| කරණ | සබ්බාය | සබ්බාහි, සබ්බාභි |
| චතුත්ථි | සබ්බස්සා, සබ්බාය | සබ්බාසං, සබ්බාසානං |
| පඤ්චමී | සබ්බාය | සබ්බාහි, සබ්බාභි |
| ඡට්ඨි | සබ්බස්සා, සබ්බාය | සබ්බාසං, සබ්බාසානං |
| සත්තමී | සබ්බස්සං, සබ්බායං, සබ්බාය | සබ්බාසු |

**මෙම නිපාත පද මාලාව අර්ථ සහිත ව පාඩම් කරන්න.**

1. එවං - මෙසේ
2. අථ - ඉක්බිති
3. අථවා - නොහොත්
4. සනිකං - හෙමින්
5. උපරි - මත්තෙහි
6. හෙට්ඨා - යට
7. තිරියං - හරහා
8. බහි - පිට
9. කුතො - කොතැනින්
10. තතො - එතැනින්

11. ඉධ - මෙහි

12. පන - වනාහි

13. කිර - වනාහි

14. බලු - වනාහි

15. පුන - නැවත

16. අද්ධා - ඒකාන්තයෙන්

17. අන්තරා - අතරෙහි

18. කත්ථ - කොහි

19. කුහිං - කොහි

20. සමන්තා - හාත්පස

21. අන්තො - ඇතුළෙහි

22. ඉතො - මෙතැනින්

23. බිප්පං - වහා

24. වා - හෝ, නොහොත්

25. නහි - නැහැ

26. ආම - ඔව්/එසේ ය

27. අජ්ජ - අද

28. හීයො - ඊයේ

29. සුවෙ - හෙට

30. කථං - කෙසේද

31. ච - ද

32. න - නොවේ

33. එව - ම

34. අපි - ත්

35. ඉදානි - දැන්

36. තදා - එකල

37. යදා - යම්කල

38. කදා - කවදා

39. සබ්බදා - සැමදා

40. සායං - සවස

41. පාතො - උදේ

42. අත්‍ර - මෙහි

43. තත්‍ර - එහි

44. විනා - හැර

45. නානා - නොයෙක්

46. සතතං - නිතර